සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

60 වෙනි කලාපය

ශ්‍රී බු. ව. 2560ක් වූ බිනර මස (ව්‍යවහාරික වර්ෂ 2016 සැප්තැම්බර්)



## භෞතිකවාදීන්ගේ අවිද්‍යාව හෙවත් විද්‍යාවේ අවිද්‍යාව

රු. 25/-

● සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# අභිනිෂ්ක්‍රමණ...

සිදුහත් කුමරු දුක පිරිසිඳ දකින නියා
බිරිඳත් සිඟිති දරුවත් තම අතැර ගියා
මිනිසත් බවට එය නොසරිය යනුය කියා
පවසත් අයෙක් ඒ පිළිබඳ බලමු සොයා

බිරිඳට දරුවනට කා බී සැන සෙන්න
ඉන්නට සිටින්නට සහ විළි වහ ගන්න
ඇත්තට මගක් නැතිනම් සුව සේ ඉන්න
සැමියට හැකිද එපරිදි හැරදා යන්න

බෝසත් කුමරු තෙම තපසට ගිය නමදු
දේවිත් පුතු රැකුනි අඩුවක් නැත කිසිදු
පෑවත් විරිදු මත මෙකරුණ ගැන කෙබඳු
ලෝසත් වග නිවුනි ගණඳුර බිඳ අවිදු

බුදු බව මහ පොළොව නම් නැති තරම නිම
හුදු දුක දේවියගෙ වැලි කැටයකට සම
නිදු කාණෙනි පුතුද දේවිය ඇතුළු සැම
රුදු භව ගමන නැසු සෙට වෙයි කරුණ එම

සදහට මහ දුකකි සසරෙහි රැඳීම
සතහට සැපය නම් භව දුක නැසීම
සැමවිට ඇලීමයි සසරට බැඳීම
නිවනට මග නොවේ කම් සැප විඳීම

සිදුහත් රජ කුමරු ගිහි ගෙය හැර යාම
යනු සත් වගම ගොර සසරින් ගැල වීම
මැදහත් සිතින් විමසමු මෙම සිදු වීම
නොපනත් කමක් ලෙස හැකි වෙද සැළ කීම

පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ධම්ම පදය තුලින් නිවන් මග

27 වන කොටස



මේ ලිපියෙන් කියන්න යන්නෙ ධම්ම පද පාළියේ අවසානයේ එන බ්‍රාහ්මණ වර්ගය ගැන. මේ කොටසින් සම්පූර්ණයෙන්ම පාහේ කියවෙන්නෙ අරිහතුන් වහන්සේලාගේ ගුණ ගැන. අනෙක් භික්ෂූන් වහන්සේලා නොයෙක් අවස්ථාවල අරිහතුන් වහන්සේලා ගැන විමසන කොට, උන්වහන්සේලාගේ රාග නැති බව, ද්වේශ නැති බව ලොව්තුරා බුදුන් වහන්සේ විසින්ම ගාථාවලින් පෙන්වා දුන් කොටසක් තමයි මේ.

ලොව්තුරා බුදුන් වහන්සේගෙන් බණ අහල තිසරණයේ පිහිටපු බ්‍රාහ්මණයෙක් ඒ කාලෙ හිටියා. මේ බ්‍රාහ්මණයා නිතරම භික්ෂූන් වහන්සේලාට දන් දුන්නා. ඒ දන් දෙන හැම අවස්ථාවකම, පින්වත් රහතන් වහන්සේ පැමිණෙන්න, පින්වත් රහතන් වහන්සේ ඉඳගන්න, පින්වත් රහතන් වහන්සේ දන් වළඳන්න... ආදී වශයෙන් කියල තමයි ඒ භික්ෂුණ් වහන්සේලාට කතා කළේ. ඉතින් මේ භික්ෂුණ් වහන්සේලා අතර හිටපු පුහුදුන් භික්ෂූන් වහන්සේලාට මේක ලොකු ප්‍රශ්ණයක් වුනා. අපි රහත් වෙලා නැතුව මේ මනුස්සය අපිට රහතන් වහන්සේ කියල අමතනවා, අපිට එහෙම බොරුවට ගිහින් දන් වළඳන්න බැහැනෙ, අපි අරිහතුන් වහන්සේලා නෙවෙයිනෙ කියල ඒ බ්‍රාහ්මණයගෙ ගෙදර නොගිහින් හිටියා.

දැන් මේ බ්‍රාහ්මණයා භික්ෂුණ් වහන්සේලා වඩිනකල් බලාගෙන ඉන්නවා. ඒත් කවුරුවත් වැඩියෙ නෑ. ඉතින් ඒ ගැන බොහොම කළකිරිල බුදුන් වහන්සේට මේ ගැන කිව්වා. උන් වහන්සේ භික්ෂුණ් වහන්සේලා කැඳවල ඇහුවා මොකක්ද වුනේ කියල. ඉතින් බුදුන් වහන්සේට විස්තරේ කිව්වා. නැවතත් බුදුන් වහන්සේ ඇහුවා, ඔබ වහන්සේලා අරිහතුන් වහන්සේලා කියල අමතනවට කැමති නැත්ද කියල. එතකොට උන්වහන්සේලා කිව්වා, අපි අරිහත් නැති බව දැන දැනත් එහෙම අමතන කොට අපහසුයි, හිතට එකඟව ඒ ගෙදරට අපට යන්න බෑ, ඒ නිසයි නොගියෙ කියල. ඉතින් බුදුන් වහන්සේ ඒ භික්ෂූන් වහන්සේලාට මේ විදිහට උපදෙස් දුන්නා.

ඒ මිනිස්සු ඉතා ශ්‍රද්ධාව නිසා, ඒ වගේම බුද්ධ සාසනය කෙරෙහි ඇති බලවත් ප්‍රසාදය නිසා අරිහතුන් වහන්සේලා කියල අමතනවා, ඒකෙ කිසි වරදක් නෑ, ඔබලට එහෙම අහන එකේ අපහසුතාවයක් තියෙනව නම් ඉක්මනින්ම පැවිදි වෙච්ච කාරණය ඉෂ්ට කරගන්න, සියලු කෙලෙස් ප්‍රහීණ කරල අරිහත් වෙන්න, එතකොට ඔබලට අපහසුතාවයක් එන්නෙ නෑ. මේ විදිහට කියල මේ ගාථාව දේශනා කළා.

ඡින්ද සෝතං පරක්කම්ම
කාමේ පනුද බ්‍රාහ්මණ
සඞ්ඛාරානං ඛයං ඤත්වා
අකතඤ්ඤූසි බ්‍රාහ්මණ

සරල සිංහල තේරුම,

බ්‍රාහ්මණය, වෑයම් කොට මේ තෘෂ්ණා නමැති දිය පහර සිඳ හරුව, වස්තු කාම ක්ලේශ කාමයන් දුරු කරව. සංස්කාරයන්ගේ විනාසය විදර්ශනා ඥානයෙන් දැන ගෙන නිවන අවබෝධ කර ගත්තෙක් වෙව.

උන්වහන්සේ සියලු අරිහතුන් වහන්සේලා අමතපු තවත් නමක් තිබුනා. ඒ තමයි බ්‍රාහ්මණ කියන නම. ලොව්තුරා බුදුන් වහන්සේ බ්‍රාහ්මණ කියල ඇමතුවේ ඒ කාලෙ හිටපු ත්‍රිවේදය දන්න බ්‍රාහ්මණයන්ට නෙවෙයි. වාසෙට්ඨ සූත්‍රයේ (බ්‍රාහ්මණ වර්ගය - මජ්ජිම පණ්ණාස පාළි - මජ්ජිම නිකාය) මෙහෙම සඳහන් වෙනවා.

එක්තරා බමුණු තරුණයෙක් බුදුන් වහන්සේට මෙහෙම කියනවා. "ලෝකයට පහළ වූ ඇසක් වැනි වූ ගෞතමයන් වහන්සේගෙන් අපි අසමු. ජාතියෙන් බමුණෙක් වේද, කර්මයෙන් බමුණෙක් වේද? නොදත් අපට යම් සේ බමුණා කවරෙක් දැයි දැන ගනිමුද? ඒ ආකාරයෙන් ප්‍රකාශ කළ මැනවි."

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ වාසෙට්ඨ තරුණයාට, උන්වහන්සේ බ්‍රාහ්මණයෙක් කියල අදහස් කළේ කවුද කියන කාරණය පහදනවා. ඉදින් රාගාදී පලිබෝධ සහිත නම් යෝනියෙන් උපන් මවුගෙන් උපන් ඔහු, මම බ්‍රාහ්මණයෙකැයි නොකියමි. හෙතෙම භෝ භෝ කියන්නෙකි (තමන් බ්‍රාහ්මණයෙක් කියල නිකම්ම ලෝක සම්මතයේ කියන කෙනෙක්). **රාගාදී පලිබෝධ නැති, මම යයි හැඟීමක් නැති පුද්ගලයා මම බ්‍රාහ්මණ යැයි කියමි.** යමෙක් සියලු සංයෝජනයන් සිඳ නොඇලෙන්නේද, ඇලීම් දුරු කළා වූ, සියලු කෙලෙසුන් කෙරෙන් දුරු වූ ඔහු බ්‍රාහ්මණ යැයි මම කියමි. බද්ධ වෛරය

නමැති රැහැනද, තෘෂ්ණාව නමැති වර පටද, පරියුට්ඨාන දෘෂ්ටිය නමැති මළ පුඩුවද, අනුසය දෘෂ්ටිය නමැති ගැටයද, අවිද්‍යාව නමැති වැස්මද නසා චතුස්සත්‍යය අවබෝධ කළ පුද්ගලයා බමුණා යැයි මම කියමි.

එතකොට සරල අදහස ගත්තොත් රාගක්ෂය කළ, ද්වේශක්ෂය කළ, මෝහක්ෂය කළ උතුමන්ට තමයි උන්වහන්සේ බ්‍රාහ්මණයා, එහෙම නැත්නම් බමුණා කියල ඇමතුවෙ. බුදුන් වහන්සේ බ්‍රාහ්මණයන්ගෙත් මහා බ්‍රහ්මයා කියල හඳුන්වන්න පුළුවන්. උන් වහන්සේට බ්‍රහ්මාතිබ්‍රහ්ම කියන්නෙත් ඒකයි. ඒ කියන්නෙ බ්‍රහ්මත්වය ඉක්මවා ගියා කියන එක. ඉතින් කලින් සඳහන් කළ භික්ෂූන් වහන්සේලාට දුන්න අවවාදය තමයි, පුළුවන් තරම් ඉක්මනට කෙලෙස් දුරු කරල නිවනට පත්වෙන්න කියල.

ඒ වගේම එක්තරා අවස්ථාවක සැරියුත් මහ රහතන් වහන්සේ භික්ෂූන් වහන්සේලා තිස් නමක් වෙනුවෙන් බුදුන් වහන්සේගෙන් ප්‍රශ්නයක් ඇහුවා. ඒ ප්‍රශ්නය තුල තිබුනෙ, මේ බුද්ධ සාසනයේ ධර්ම දෙකක් තියෙනවා, මොකක්ද මේ ධර්ම දෙක කියන කාරණය. බුදුන් වහන්සේ දේශනා කරනවා, ඒ ධර්ම දෙකට කියන්නෙ සමථ විපස්සනා කියල. ඒ අනුව මේ ගාථාව දේශනා කළා.

> යදා ද්වයේසු ධම්මේසු
> පාරගූ හෝති බ්‍රාහ්මණෝ
> අථස්ස සබ්බේ සංයෝගා
> අත්ථස්ස ගච්ඡන්ති ජානතෝ

සරල සිංහල තේරුම,

බ්‍රාහ්මණ තෙම (සියලු පව් බැහැර කළ රහතන් වහන්සේ) යම් කලෙක සමථ විදර්ශනා ධර්ම දෙකෙහි පරතෙරට ගියේ වේ නම්, එකල චතුරාර්ය සත්‍යයන් මොනවටද දන්නා වූ ඒ බ්‍රාහ්මණයාගේ කාමාදී සියලු සංයෝගයෝ විනාසයට යෙත්.

ඉතින් මේකත් අරිහතුන් වහන්සේගෙ ගුණයක්. සිත සමාධි ගත කරගන්න පුළුවන් උපරිම මට්ටමටත්, විදර්ශනාවෙ උපරිමයටත් ගිය උත්තමයෙක්. කෙනෙකුට ආර්ය මාර්ගය පූර්ණ කරගන්න අවශ්‍ය නම්, මුලින්ම හිත සමථයකට පත් කරගන්න ඕන. එතකොට විදර්ශනා කරන්න පහසුයි. හරියට නිසල ජලයක පතුල පේන්න පටන් ගන්නව වගේ. ජලය කැලඹෙනව නම් පතුල පේන්නෙ නෑ. පතුල බලන්න නම් ටික ටික අර කැලඹීම නතර කරන්න ඕන. හිතත් ඒ වගේ. හිත කැලඹෙන්න කැලඹෙන්න හිත පතුලෙ තියෙන කෙලෙස් පේන්නෙ නෑ. හිත නිසල වෙන්න වෙන්න කෙලෙස් කුණු පේන්න පටන් ගන්නවා. ඊට පස්සෙ විදර්ශනාවෙන් ඒ කුණු අයින් කරනවා. තව තවත් පිරිසිදු වෙනවා.

ඒ වගේ, ක්‍රමයෙන් මේ සමථයත් විදර්ශනාවත් වැඩීමෙන් උපරිමත්වයට පත් වෙන්න පුළුවන්. මේ උපරිමත්වයට පත් වෙච්ච උතුමා තමයි අරිහතුන් වහන්සේ. පුහුදුන් පුද්ගලයෙක් හත් ආකාරයකට සමාධිය/සමථය වඩන බවත්, සේක පුද්ගලයා හෙවත් අරිහතුන් වහන්සේගෙන් මෙහා මාර්ගඵල ලාභීන් සමථය අට ආකාරයකින් වඩන බවත්, අරිහතුන් වහන්සේ දස ආකාරයකින් සමථය වඩන බවත් ධර්මයේ සඳහන් වෙනවා. මෙතනදි අරිහතුන් වහන්සේ සමතය වඩන්නෙ ඉහාත්ම සුඛ විහරණයට. ඒ වගේම පුහුදුන් පුද්ගලයා විදර්ශනාව නව ආකාරයකටත්, සේක පුද්ගලයා දස ආකාරයකටත්, අරිහතුන් වහන්සේ දොලොස් ආකාරයකටත් වඩන බව ධර්මයේ සඳහන් වෙනවා. මෙතනදිත් අරිහතුන් වහන්සේ විදර්ශනා කරන්නෙ ඉහාත්ම සුඛ විහරණයට. ඒ කියන්නෙ ලැබිච්ච නිවන් සුවය සිහි කරනවා. ඒ ශාන්ත බව, ප්‍රණීත බව සිහි කරනවා. වැඩි විස්තර සඳහා පටිසම්භිදා මග්ගප්‍රකරණයේ 423 පිටුවේ අන්තිම ඡේදය බලන්න.

ඒ වගේම තවත් අවස්ථාවක සැරියුත් මහරහතන් වහන්සේගෙ නිවුනු ස්වභාවය ගැන මිනිස්සු කතා වුනා. උන් වහන්සේගෙ ඉවසීමේ ගුණය ගැන මිනිස්සු පැහැදිලා හිටියෙ. කොච්චර බැන්නත් කොච්චර ගැහුවත් උන්වහන්සේගෙ මේ තිබිච්ච පුදුම ඉවසීමේ ගුණය ගැන තමයි ඒ අය කතා වුනේ. නමුත් මේක අහගෙන හිටිය එක්තරා බමුණෙක්, එහෙම ඉවසන මිනිස්සු ඉන්නවද කියල හිතුවා. ඒක පරීක්ෂා කරන්න ඕන කියල හිතල, සැරියුත් මහරහතන් වහන්සේ වඩින අවස්ථාවක පිටිපස්සෙන් ගිහින් හොඳට වෙර දාල පිටට එකක් ගැහුවා. උන්වහන්සේ කවුද ගැහුවෙ කියලවත් බලන්නෙ නැතුව ඉදිරියටම වැඩියා. මේක දැකපු අර බමුණා, අනේ මම මොන අපරාධයක්ද කළේ කියල හොඳටම බය වෙලා කම්පා වෙලා මහ තෙරුන් වහන්සේ ළඟ වැඳ වැටුනා.

දැන් මේක දැකපු අනික් මිනිස්සු මේ බමුණාට පහර දෙන්න උත්සාහ කළා. නමුත් උන්වහන්සේ ඔහුට සමාව දීල තමන් වහන්සේගෙ පිටිපස්සෙන් එන්න කියල පාත්‍රයත් අතට දුන්නා. එහෙම කළේ ඒ බමුණා ගැන අනුකම්පාවෙන් අනෙක් මිනිස්සු ඔහුට කරදර හිරිහැර කරයි කියල හිතල. ඒ වගේම උන් වහන්සේ ඒ බමුණගෙ ගෙදර ඉඳන්ම දානෙත් වළඳල තමයි නැවත වැඩියෙ. මේ සිද්ධිය ගැන භික්ෂූණ් වහන්සේලා කතා වුනා, බුදුන් වහන්සේටත් සැළ කළා. මේ ක්‍රෝධය කියන එක නැති වෙන්නෙ අනාගාමී මාර්ගයෙන්, අරිහතුන් වහන්සේ නමකට කොහොමටත් එහෙම ක්‍රෝධයක් නෑ. බ්‍රාහ්මණයෙක් තවත් බ්‍රාහ්මණයෙකුට පහර දෙන්නෙ නෑ. මෙතනදි වුනේ ගිහි බ්‍රාහ්මණයෙක් ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට පහර දීමක් විතරයි කියල බුදුන් වහන්සේ මේ කාරණය පහදල මේ ගාථාව දේශනා කළා.

> න බ්‍රාහ්මණස්ස පහරෙය්‍ය
> නාස්ස මුඤ්චේථ බ්‍රාහ්මණෝ
> ධී බ්‍රාහ්මණස්ස හන්තාරං
> තතෝ ධී යස්ස මුඤ්චති

සරල සිංහල තේරුම,

බ්‍රාහ්මණයෙක් (රහත් නමක්) බ්‍රාහ්මණයෙකුට (රහත් බමුණෙකුට හෝ ජාති බමුණෙකුට) පහර නොදෙන්නේය. බ්‍රාහ්මණයා (රහත්) තමාට පහර දුන්නහුට කෝප නොකරන්නේය. බ්‍රාහ්මණයාට පහර දෙන්නහුට නින්දා වේවා. යමෙක් තමාට පහර දුන්නහුට කෝප කෙරේ නම්, ඒ පහර දුන්නහුටත් වඩා ඔහුට නින්දා වේවා.

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ, උතුමෙකුට ඒ විදිහට පහර නොදිය යුතු බවත්, නියම බ්‍රාහ්මණයෙක් නම් ඒ පහර දුන්න කෙනා කෙරෙහි කිසිම වෛරයක් ක්‍රෝධයක් ඇති කර නොගත යුතු බවත්. ඉවසීමෙන් ඉන්න ඕන කියන එකයි මේ කියන්නෙ. කෙනෙකුට හිතෙන්න පුළුවන්, අනේ එහෙම ඉන්න පුළුවන්ද, අපිට පහර දුන් කෙනා කෙරෙහි ආයාසයෙන් පහර නොදී හිටියත් තරහක් එන එක ☞

# ලෝකයේ ස්වභාවය දැකීම තුලින් ඉවසීම ප්‍රගුණ කිරීම...

## ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 10

තමන්ට නින්දා අපහාස කරන අය, ද්වේශයෙන් බණින අය, වෛර කරන අය, තමන්ගෙ පවුල්වල, එහෙම නැත්නම් තමන් නිතර හැසිරෙන වැඩ පොලේ මග තොටේ වගේ තැන්වල ඉඳීම ආර්‍ය මාර්ගය වඩා ගන්න බාධාවක් කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. මේ වගේ අවස්ථාවකදි අපි ද්වේශයක් හදා ගන්නෙ නැතිව ඉන්න මොකක්ද කරන්න ඕන?

ඉස්සෙල්ලම තේරුම් ගන්න ඕන ලෝකයේ හැටි. ප්‍රශ්නයට පිළිතුර එතැනම තියෙනවා. ඔක්කොම ප්‍රශ්න ලෝකය "මම, මගේ" කරගන්න යන නිසා. ලෝකය "මම" කරගන්න, "මගේ" කරගන්න යන තාක් ලෝකයේ හැටි දකින්නෙ නෑ. ලෝකය හරියට දැකල තේරුම් ගත්ත දවසට, ලෝකය "මම, මගේ" කරගන්න යන්නෙ නෑ. ප්‍රශ්න සියල්ල අවසන්.

ඒ නිසා ගෙදරදිත් ලෝකෙ හැටි දකින්න. මග තොටේදිත්, කඩ පොළේදිත්, වැඩ පොළේදිත් ලෝකෙ හැටි දකින්න. "වැඩ පොලේ ලොක්කට පේන්නෙ මගේ වැරදි අඩු පාඩුමයි. අනෙක් අය ගිහින් ලොක්කට කේලම් කියනවා. ගෙදර ගියාම ගෙදර මනුස්සය බනිනවා. ළමයි කෑ ගහනවා. දෙමව්පියො දොස් කියනවා. නැන්ද මාම ඇනුම් පද කියනවා. නෑදෑ හිතමිතුරන්ගෙන් නොයෙක් ඇනුම් බැනුම්. රටේ නැති ප්‍රශ්ණ. වහ බීල මැරෙනව නම් මීට වඩා හොඳයි කියල හිතෙනවා. මේවා ඔක්කොම දමල ගහල වෙන කොහේ හරි යන්න හිතෙනවා. තපස් රකින්න කැළේට යන්න හිතෙනවා." මේ තමයි සාමාන්‍ය ලෝකයා හිතන හැටි.



මේ ශරීරයත් එක ලෝකයක්. ඉස්සෙල්ලම මේ ශරීරය තුලින් ලෝකෙ හැටි බලන්න පටන් ගන්න. ශරීරයේ හැටි දැක්කට පස්සෙ තමයි තේරෙන්නෙ, ඔක්කොම දාල කොහේ හරි ගියාට යන්න වෙන්නෙ මේ ශරීරයත් අරගෙන නම් ප්‍රශ්න අවසන් නැති බව. ලෝකයේ තියෙන හැම එකක්ම ශරීරයෙත් තියෙනවා. ලෝකයේ කැඩෙන බිඳෙන වැනසෙන ඒවා තියෙනවා. ඒවා අපේ කැමැත්තට පවත්වන්න බෑ. මේ ශරීරයේ තියෙන ඒවත් කැඩෙනව බිඳෙනවා, කැමති සේ නෑ. ඇහැ, කන, නාසය, දිව, ශරීරය කැමති සේ නෑ. පහල වෙන යම් හිතක් තියෙනවද, ඒකත් කැමති සේ නෑ. මේ සියල්ල අනිච්චයි කියල දකින්න ඕන. දැන් අපට කැමති සේ පවත්වන්න බැරි මේ ඉන්ද්‍රියන් අපි පරිහරණය කරන්නෙ කොහොමද? අපි ඒවත් එක්ක තරහද?

ඇහෙන් අපිට මොනවද ලැබෙන්නෙ? ඇහැ කියන ඉන්ද්‍රිය තියෙනකල් ☞

නවත්වන්න පුළුවන්ද කියල.

ඉතින් මෙතනදි උන්වහන්සේ පෙන්නුවෙ, අරිහතුන් වහන්සේගෙ ගුණය. අනාගාමී මාර්ගයෙන් සම්පූර්ණයෙන් ක්‍රෝධය දුරු කරගෙන ඉදිරියට ගමන් කරල ඒ ගමන පරිපූර්ණ කරපු උතුමෙක් ගැන. ඊට පහල ඉන්න අය ඒ ඒ මට්ටමෙන් ක්‍රෝධය නැති කරගෙන ඉන්නෙ. සෝවාන් මාර්ගයේ ඉන්න අය සතර අපා මට්ටමෙන් නැගෙන ක්‍රෝධය නැති කරගෙන ඉන්නෙ. පහර දුන් කෙනාට නැවත පහර දෙන්න හිතුනත්, මාර්ගය වඩන කොට ක්‍රමයෙන් ඒක දුරු කරගන්නවා. එතකොට පෙරලා ගහන්න බනින්න යන අයට ලොව්තුරා බුදුන් වහන්සේ මුලින් ගහපු කෙනාටත් වඩා නින්දා කළා. තරහක් හිතට ආවම ඒ අනුවයි හිතන්න ඕන. ඊළඟ ගාථාවෙන් අරිහතුන් වහන්සේගෙ ඒ ගුණය තමයි උන් වහන්සේ පෙන්නුවෙ.

න බ්‍රාහ්මණස්සේතදකිඤ්චි සෙයියෝ
යදා නිසේධෝ මනසෝ පියේහි
යතෝ යතෝ හිංසමනෝ නිවත්තති
තතෝ තතෝ සම්මති මේව දුක්ඛං

සරල සිංහල තේරුම,

තමන්ට පහර දුන්නහුට පෙරළා පහර නො දීමය, බිණුවහුට පෙරළා නොබිණීමය යන මේ එකටෙක නොකිරීම බ්‍රාහ්මණයාගේ ස්වල්පමාත්‍ර උතුම් ගුණයක් නොවේ, එය ඉතා උසස්ම ගුණයෙකි. යම් විටක කිපෙන්නහුගේ සිතට ප්‍රිය වූ ක්‍රෝධ සිත වැළැක්මෙක් වේද එය ඉතා උතුම් ගුණයෙකි. මොන ක්‍රමයකින් හෝ ක්‍රෝධ සහගත සිත නවතී නම් ඒ හැම ක්‍රමයෙන්ම සියලු සසර දුක සංසිඳේ.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, එහෙම පහර දුන්න කෙනෙකුට පෙරලා පහර නොදී හෝ තරහ නොගෙන හෝ ඉන්න එක නිවට කමක් කියල. ඒත් සියල්ල සියලු ආකාරයෙන් දකින ලොව්තුරා බුදුන් වහන්සේගෙ දේශනාවට අනුව නම් ඒක සුළුපටු ගුණයක් නෙවෙයි. සුළුවෙන් හෝ එහෙම ක්‍රෝධ සිත නවත්වනව කියන්නෙ, තමන් අඩියක් හෝ නිවන් පූර්ණ කරගන්න ඉදිරියට යනව කියන එක. මේ මාර්ගයේ ඉදිරියට තියපු අඩිය ආපහු පස්සට තියන ස්වභාවයක් නෑ. තියන තියන අඩිය නිවන කරාමයි යන්නෙ. අවසානයේ ඒ බ්‍රාහ්මණ කියන ගුණය පූර්ණ කරගන්නවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළියේ බ්‍රාහ්මණ වර්ගය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**
**072-7536839**

මොහොතක් ගානෙ ඇස් පිය ගහ ගහ ඇස්වල තියෙන දැවිල්ල අරින්න ඕන. ලෙඩ හැඳුනම ඇස්වලට බෙහෙත් කරන්න ඕන. ඇහැ පෝෂණය කරන්න අවශ්‍ය දේ ශරීරය තුලින් ආහාර විදිහට දෙන්න ඕන. එහෙම නැතිවුනොත් ඇහැ දුර්වල වෙනවා. දවසට කීප සැරයක් ඇහැ පිරිසිදු කරන්න ඕන, ආරක්ෂා කරන්න ඕන. හැම තිස්සෙම ඇහැට මොනව හරි වෙයි කියල බයෙන් ඉන්න වෙන්නෙ. මේ හැම දේම කරන්න ඕන. දැන් ඇහැ අපිට මොනවද දෙන්නෙ? ඇහැ එතනම කඳුළු කබ විදිහට මළ පහ කරනවා. යන්තම් අවුරුදු හතළිහ වෙනකොට පෙනීම දුර්වල වෙනවා. තව ටික කලක් යන කොට අන්ධයෙක් වගේ ඇස් නොපෙනී ගිහින් කුණු වෙලා මැරිල යන ඇහැක් තමයි ලැබෙන්නෙ. වෙන වටිනා හරවත් දෙයක් ලැබිල නෑ. ඒ වුනාට ඇහැ එක්ක අපි තරහ නෑ. ඇහැ අපිට නිහඬව දුක් දෙනවා, අපි අකමැති දේවල්ම කරනවා. දකින්න බලාපොරොත්තු වෙන්නෙ ප්‍රිය මනාප දේවල්. හැබැයි අප්‍රිය අමනාප දේවල් තමයි වැඩි හරියක් දකින්න ලැබෙන්නෙ. හොඳ දේවල් බලන්න, ලබාගන්න දඟලනවා, උත්සාහ කරනවා. ඒත් එහෙම කැමැත්තට ලැබෙන්නෙ නෑ. මෙන්න මේ විදිහට මිතුරෙක් වගේ ඉඳන් හතුරුකම් කරන කෙනෙක් තමයි ඇස් දෙක කියන්නෙ. හැබැයි අනික් ඉන්ද්‍රියන් පවත්වගන්න ඇස් දෙක නැතුවත් බෑ. අන්ධ වෙන්න දීල නිකං බලාගෙන ඉන්නත් බෑ. මොකද ඇස් දෙකේ ආධාරය නැතිව අනික් කිසිවක් හරියට කරගන්න බෑ.

කන් දෙකත් ඒ වගේ. කනටත් විවිධ ආබාධ එනවා. වා, පිත්, සෙම් දෝසයක් හටගත්තොත් කන් පැසවනවා. කන් ඇහෙන්නෙ නැතිව යනවා. ඒ නිසා නිතර සුද්ධ කරල පිරිසිදුවට තියාගන්න ඕන. අවසානයේ ඇහීමත් දුර්වල වෙලා කුණු වෙලා මැරිල යන එකක්ම තමයි කන කියන්නෙ. කනත් අපිට ලබා දීපු හරයක් නෑ. නාසයත් එහෙමම තමයි. සෙම් සොටු ගෙනත් දෙනවා. ජරාවමයි ගෙනත් දෙන්නෙ. සුද්ධ නොකළොත් එහෙම ඉන්න බෑ. සුවඳ හෙව්වට දරාගන්න බැරි ගඳ තමයි නහය තුලින් වැඩිපුර ලැබෙන්නෙ. අන්තිමට නහයත්, හරයක් ඉතුරු නොකර කුණු වෙලා මැරිල යනවා. දිවත් ඒ වගේ. උදේට දිව කට සුද්ධ කළේ නැත්නම් කෙනෙකුට ළඟ ඉන්න බෑ, ගඳයි. කෑම රස නැති වෙලා කන්න බැරි වුනාම කට ඇද කරපු වාර කොච්චරද දන්නෙ නෑ. සතුටු වෙච්ච වාර ටිකයි. "කට හරියෙ තියන්න බෑ, දිය රහයි. හැමදාම මේ එකම ජාති කන්න බෑ." හොඳ රස හොයන්න ගිහින් විවිධ ප්‍රශ්න. කයට ඕන වෙන්නෙ ප්‍රත්‍ය වෙන ගුණදායක ආහාරයක්. හැබැයි දිවට එහෙම බෑ, හොඳට රසට තියෙන්න ඕන. නැත්නම් උගුරෙන් පහලට දාගන්න බෑ. මේ ප්‍රශ්නෙ දුර දිග ගිහින් පවුල් පවා අවුල් කර ගත්ත අවස්ථා නැතුව නෙවෙයි.

එහෙම නැත්නම් අහවල් ලෙඩේ නිසා මට අරක කන්න බෑ, මේක කන්න බෑ, ඕන දේ නොකා ජීවත් වෙනවට වඩා මැරිල ගියා නම් හොඳයි... ආදී වශයෙන් කිය කියා රහ බලන්න නැතුව හිත දුක් වෙනවා. කොච්චර දුන්නත් ඇති වෙන්නෙ නෑ. හැබැයි කයට නම් බඩ පිරුනම ඇති. ඒත් දිවට මදි. රස බලන්න ගිහින් අනවශ්‍ය විදිහට වැඩිපුර කාල තරබාරු කයක් හදාගෙන දියවැඩියාව ආදී නොයෙකුත් ලෙඩ රෝගවලින් දුක් පීඩා විඳිනවා. සැප හොයන්න ගිහින් දුකම විඳිනවා. කයට බලාපොරොත්තුවන ස්පර්ශය නොලැබී ගියාම ඊටත් වඩා අමාරුයි. සමහර විට සිය දිවි හානි කරගන්නවා. මේ කාන්තාව, එහෙම නැත්නම් පිරිමියා, මට ලැබුනෙ නැත්නම් මගේ ජීවිතෙන් වැඩක් නෑ කියනවා. ස්පර්ශ කාමයට තියෙන බැඳීම හරි ප්‍රබලයි.

මේ විස්තර කරපු පංචේන්ද්‍රියන්ගෙන් ගන්න අරමුණු ටික නැවත නැවත මතක් කරමින් විඳින්නෙ මන කියන ඉන්ද්‍රියෙන්. ඒ කියන්නෙ හිතෙන්. ඒ ඒ ප්‍රිය මනාප මන වඩන අරමුණු බලාපොරොත්තුවෙන් හිත දුක් විඳිනවා. අසහනයට පත් වෙනවා. දුකට හේතු වෙමින් දුකම දෙනවා. එකම අරමුණක් නිසා හිත සිය දහස් වාරයක් දුක් විඳිනවා, මැරි මැරි උපදිනවා. එක වතාවක් කෙනෙක් බැන්නොත්, මට මෙහෙම බැන්න අරහෙම බැන්න කිය කියා මතක් වෙන මතක් වෙන වාරයක් පාසා දුක් විඳිනවා. කනෙන් ඇහිච්ච එක හිතෙන් අරගෙන දුක් විඳිනවා. සැමියා පාරක් ගහපු එක අල්ලගෙන බිරිඳ අවුරුදු ගණනක් අඬනවා. කයට රිදුනෙ ගහපු වෙලාවෙ විතරයි. හැබැයි ඊට පස්සෙ මතක් වෙන වාරයක් පාසා අඬ අඬා කියව කියව දුක් වෙනවා. මේ සියල්ල වැටෙන්නෙ "අවිද්‍යා පච්චයා සංඛාරා" කියන කොටසට. ඒ නිසා අවසන් වෙන්නෙ දුක්ඛස්කන්ධයක් ගොඩ නගල දීල.

මේ ගත හිත කියල ලෝකයක් හදාගෙන තමන් අකමැති රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම වැඩි හරියක් භුක්ති විඳිමින් දුකක්ම විඳිනවා. තමන් කැමති මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම ලැබුනොත් උද්දාම වෙලා ඒවා අල්ලගෙන අනාගතේ දුක් විඳින්න උගුලක් හදා ගන්නවා. මෙන්න මෙහෙම ගෙනියන වැඩ පිළිවෙලට "මම" කියල නමක් සම්මත කරගෙන තියෙනවා. "මම" කියන ලෝකය මේ විදිහට දකින්න ඕන. දැන් මේ "මම" කියන ලෝකයේ ඇස, කන... ආදී වශයෙන් කියන එක කෑල්ලක්වත් දාල මට පැනල යන්න විදිහක් තියෙනවද? සැනසිල්ලෙ ඉන්න කියල කොහාට ගියත් ඔය ටික අරන් යන්න වෙනවා. ඔය "මම" කියන එකේ තියෙන කෑලි ටික තරම් කරදර කරන තව හතුරෙක් ඇත්තෙත් නෑ. ඒ වුනාට මම, මම එක්ක තරහ නෑ. ඒව හොඳයි. කොච්චර මට කරදර කළත් ඒ තරම් වටින කෑලි ටිකක් මට තව ඇත්තෙත් නෑ. කොච්චර දේපල වස්තුව තිබුණත් ඒ ඔක්කොටම වඩා මට, මම වටිනවා. ලෙඩක් හැදිල කකුලක් කපන්න වෙනවා. හැබැයි රුපියල් කෝටි දෙකක් දීල සැත්කමකින් හොඳ කරන්න පුළුවන් කිව්වොත්, මුළු සේසතම විකුණල හරි කකුල බේරගන්නවා. "මම" එච්චරට වටිනවා. ඒ නිසා "මම" එක්ක තරහ වෙලා "මම" දාල යන්නෙත් නෑ." මම" එපා කියන්නෙත් නෑ.

ඊට පස්සෙ "මගේ" කියල කොටසක් තියෙනවා. ඒවා "මම" නොවන නිසා වැඩිපුර දොස් දකිනවා. "මම" කියන එකේ ජරාවක් එහෙම ගෑවුනොත් ඉක්මනට හෝද ගන්නවා. බැරි වෙලා එහෙම කපුටෙක් පැහැරුවොත් විගහට සුද්ධ කර ගන්නවා. හැබැයි කයට දොස් කියන්නෙ නෑ. කයේ දොසක් දකින්නෙත් නෑ. නමුත් බාහිර ලෝකෙ ඒකට හේතු වෙච්ච දේ ගැන දොස් දකිනවා. මේ තමයි ලෝකෙ හැටි. තමන්ට වැඩිපුර ප්‍රිය මනාප හිතවත් කෙනෙක් හිටියොත් ඒ කෙනා තමන්ට ගැහුවත් හොඳයි, බැන්නත් හොඳයි. ඔය විවාහය කරගන්න එපා කියල දෙමව්පියො කිව්වොත් එහෙම දෙමව්පියො හොඳ නෑ, ඔවුන් පේන්නෙ හතුරො විදිහට. මරාගන්න හදනවා. රණ්ඩු කරනවා. හැබැයි ගෑනු ළමය එක්ක යාළු වෙන්න ගිහින් ගෑනු ළමය සෙරෙප්පුව ගලවල පාරක් ගැහුවොත් ඒක ඉවසනවා. ඒකට ප්‍රශ්නයක් නෑ. ආයෙත් ඒ ගෑනු ළමයගෙ

කැමැත්ත ගන්න පස්සෙන් යනවා. කිසිම දොසක් දකින්නෙ නෑ. මේ වගේ දෙයක් තියෙනවා. **තමන් යමකට ප්‍රිය මනාප නම් ඒකෙන් කොච්චර කරදර ආවත් ඒක හොඳයි.**

දැන් එතකොට තමන්ගෙ පංච කාම ආස්වාදයන්ට බාධකයක් නම් ආවෙ, ඒකත් එක්කයි තරහ වෙලා තියෙන්නෙ, ඒකයි එපා වෙලා තියෙන්නෙ. ඒ ආස්වාදයන්ට විරුද්ධ නිසා මිසක් දුක් කරදර නිසා නෙවෙයි එපා වෙලා තියෙන්නෙ. මේක තමයි පෘතජ්ජන ලෝක ස්වභාවය. මේකෙන් දකින්න ඕන, ගෙදරින් හෝ කරදරකාරයො ඉන්න තැනින් හෝ පැනල ගියා කියල මේ කරදරවලින් බේරෙන්න බෑ කියල. කොහේ ගියත් තියෙන්නෙ කරදරම තමයි.

ධර්මාවබෝධය තුලින් ලෝකයේ ආදීනවය වන අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය වටහගෙන නිදහස් වෙන්නෙ නැතිව, ඒ කියන්නෙ ඡන්ද රාගය දුරු කරල ආර්ය උපේක්ෂාවට පත් වෙන්නෙ නැතුව, වෛරක්කාරයො නැති, හොඳ අය විතරක් ඉන්න තැන් හොයන්න ගියොත් එහෙම, මැරෙනකල් ඇවිදින්න පුළුවන්. එහෙම තැන් කොහේවත් හම්බ වෙන්නෙ නෑ. කරගත්ත කර්ම වේග නිසා විවිධාකාර අනිෂ්ට අප්‍රිය අරමුණු නිතර මුණ ගැහෙනවා. අපිට දැන් ඒ කරපුව පේන්නෙත් නෑ, මතකත් නෑ. එහෙම ඒවා කළා කියල දන්නෙත් නෑ. ඒ නිසා කරදර එනකොට කියන්නෙ, අනේ අපි කාටවත් කරදර කරල නෑ, ඇයි අපිට මෙහෙම කරදර වෙන්නෙ කියල.

කවද හරි කාගෙ හරි ප්‍රිය මනාප ස්වභාවයක්, හොඳින් ඉන්න සමගියෙන් ඉන්න ස්වභාවයක් දැකල, ඔවුන්ට ඊර්ෂ්‍යා කරල ද්වේශයෙන් පරිභව කරල නිගරු කරල සතුටක් ලැබුව නම්, ඒක අපේ කර්ම භවයේ තැන්පත් වෙනවා. කවද හරි ඒක අපිට විපාකයක් ගෙනත් දෙනවා. දැන් ඒකට ගැලපෙන විදිහට බැනුම් අහන්න වෙනවා. දවසයි දෙකයි වැඩේ කළේ, හැබැයි ජීවිත කාලෙටම විපාකය විඳල ඉවර කරගන්න බෑ.



සසර කියන්නෙ මේ ජාතියේ එකක්. ඒකෙන් සසරෙ තියෙන භයානකකම තේරුම් ගන්න ඕන. සසර කියන්නෙ හොඳ එකක්නම් නෙවෙයි. සසරෙ තවත් ඉන්න හදනවනම් ඒ තරම් මෝඩ වැඩක් තවත් නෑ. ඒ නිසා අපට අනිෂ්ට අප්‍රිය තැන් හම්බ වෙනවා. ඒවායින් අයින් වෙලා ඉෂ්ට ප්‍රිය තැන් හදාගෙන ඉන්න විදිහක් නම් ලෝකයේ නෑ කියල ධර්මානුකූලව දකින්න ඕන. ලෝකය අනිච්චයි කියල අවබෝධයෙන් දකින්න ඕන. අනිච්චතාවය කාටත් පොදුයි.

එහෙනම් ආපු දේකට මුහුණ දෙනවා. මොනවා කරන්නද? ඉවසීම පුරුදු කරන්න ඕන. ඔහේ ඕන එකක් කියපුවාවෙ. ඉවසනවා. හැබැයි ඉවසීම පුරුදු කරන එක මුලදී හරි අමාරුයි. ලෝකයට මෛත්‍රිය කරන්න ඉස්සෙල්ල, ගෙදර ඉන්න අයගෙන් එන කරදර බාධක ප්‍රශ්න ඉවසල ඔවුන්ට මෛත්‍රිය කරන්න පුරුදු වෙන්න ඕන. හුග දෙනෙක් ගහ මරාගන්නෙ, වහ බොන්න පෙළඹෙන්නෙ මේ වගේ තමන්ගෙ පවුලෙ ගැටළු නිසා. "මම මෙච්චර හොඳ කළා, හැබැයි මට කරන්නෙ මෙහෙමයි." බාහිර ලෝකයට එහෙම උදව් උපකාර කරල නෑ. කරල තියෙන්නෙ තමන්ගෙ අයට. එහෙම කරලත් මෙහෙම වෙච්ච එකයි හිතට අමාරු. ඒ නිසා ඉවසන්න අමාරුම ප්‍රශ්න කරදර එන්නෙ තමන් ළඟම ඉන්න අයගෙන්. මොකද තමන් ළඟම ඉන්නෙ තමන් එක්ක සසරෙදි ආසන්න කාලවල බලවත් ගනු දෙනු හදාගත්ත උදවිය. ඒවා පියවගන්න තමයි කර්මානුරූපීව ඒ අය ළඟටම ආවෙ. ඒ නිසා වැඩිපුරම කරදර එන්න ඕන ඒ අයගෙන් තමයි. එහෙම ගහගන්නෙ මරාගන්නෙ නැතුව, ගෙදර අයත් එක්ක ඉවසීමෙන් ඉන්න පුරුදු කරපු කෙනාට මුළු ලෝකයෙන්ම එන කරදර ගැටළු කිසි ගානක් නැතුව ඉවසන්න පුළුවන්.

ඉවසීමේ වැදගත් කමක් තියෙනවා. ඉවසීමෙදි රණ්ඩු වෙන්නෙ නෑ. ගහ බැනගන්නෙ නෑ. යුතුකම් හරියට ඉටු කරනවා. හැබැයි සංසාර ගමනක් නම් නැවත පතන්නෙ නෑ. ක්‍රමයෙන් ඡන්ද රාගයෙන් මිදෙනවා. ඉවසීමේ ප්‍රතිඵලය තමයි ආර්ය මාර්ගය වැඩීම. ඇත්තටම මේ වගේ අවස්ථා මාර්ගය වඩා ගන්න බාධකයක් නෙවෙයි, රුකුලක් වෙනවා. හැබැයි අමාරුයි. අපි හිතමු ගෙදරක වහලෙක් ඉන්නව කියල. වහලට ගෙදර කිසි අයිතියක් නෑ. ගෙදර අණසක පනවන්න ඔහුට කිසි බලයක් නෑ. ඔහුට ඕන එකක් කරන්න බෑ. ඒක තමයි ලෝක සම්මතයේ කියවෙන නියම වහලෙක්ගෙ ස්වභාවය. **යමෙකුට වහලෙක් නොවී වහලෙක් වෙන්න පුළුවන්නම් ඒකට කියනවා ඉවසීම කියල. එහෙම වෙන්න පුළුවන් වෙන්න ඕන. ඒක ධර්මාවබෝධයේ ස්වභාවයක්. ශාන්තිය කියන්නෙ ඒකට. තපස කියන්නෙත් ඒකට.** හැබැයි මේ උපමාවක් පෙන්නුව මිසක් සමාජ සම්මතයේ තියෙන වහල්භාවය අනුමත කළා නෙවෙයි.

බුදු පියාණන් වහන්සේ ඉවසීමේ උපරිමය පෙන්වන්නෙ ඉතා ගැඹුරු විදිහට. යම් රජෙක් වධකයාට නියම කරනවා, යම් වරදකට හසු වෙච්ච කෙනෙකුට අහී මාල කියන දඬුවම දෙන්න. මෙතනදී ඒ වරදකරුවාව හෙල්ලෙන්න බැරි වෙන්න කොටයකට තියල බඳිනවා. ඊට පස්සෙ රජතුමා වධකයාට අණ දෙනවා, වරදකරුගෙ දෙපතුලේ සිට හීනියට වද මල් පෙත්තෙ ගානට පෙති කපන්න කියල. මේකට ඉතා තියුණු මුවහතක් තියෙන කඩුවක් අවශ්‍ය වෙනවා. ඒ වගේම මේක හැමෝටම කරන්නත් බෑ. ඒකටත් හොඳ ප්‍රගුණතාවයක් තියෙන්න ඕන. මොකද රජ අණ ඒ විදිහටම පිලිපදින්න වෙනවා. දැන් වධකයා දෙපතුලේ සිට පෙති කපාගෙන එනවා. මොන තරම් වේදනාවක් එයිද? දෙපතුලේ සිට දණහිසට එනකල් කැපුවත් මනුස්සය මැරෙන්නෙ

නෑ. කළව ළඟට එනකල් කැපුවත් මැරෙන්නෙ නෑ. තව ටිකක් කපන කොට සිහිය නැති වෙයි. එතකල් ඒ භයානක දුක ඉවසනවා. ඒ අවස්ථාවෙදි ඒ වධ දෙන වධකයාටවත්, අණ දෙන රජතුමාටවත් වචනයකින්වත් හිත රිදවන්නෙ නැතුව ඉවසන්න පුළුවන් නම්, මම කියන මාගේ පුත්‍රයා මේ වගේ කෙනෙක් කියල බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා. ඒ තමයි අරිහතුන් වහන්සේගෙ ස්වභාවය.

අන්න ඒ තත්වයට ඉවසීම ප්‍රගුණ කරන්න ඕන. "මොන කතාවක්ද මේ! අපි කොහොමද ඒ තත්වයට පත් වෙන්නෙ?" කෙනෙකුට එහෙම හිතෙන්න පුළුවන්. මම රහත් මම රහත් කියල කෑගහන උදවිය මේ ගැන මොකද කියන්නෙ? එහෙම ඉවසගෙන ඉන්න පුළුවන්ද? එහෙම ඉන්න පුළුවන් නම් ඒ තමයි බුදු පියාණන් වහන්සේගෙ පුත්‍රයා. ඒ පෙන්වා තියෙන ඉවසීමේ ස්වභාවය අපට හිතාගන්න පුළුවන්ද? නමුත් ඒ තමයි පූර්ණ දහම් අවබෝධයේ ස්වභාවය. නොගැටෙන බව කොච්චර තියෙන්න ඕනද? කෙනෙකුට ඔයිටත් වඩා දෙන්න පුළුවන් දඬුවමක් හිංසාවක් තවත් තියෙනවද? ඉක්මනින් ලෝකය කෙරෙහි තියෙන ඡන්ද රාගය දුරු වෙන්න මේ ඉවසීම ඉවහල් වෙනවා. තමන්ට අවශ්‍ය කිසිවක් කරන්න බැරි තැනක වහලෙක් වගේ ඉන්න පුළුවන් නම්, බලා ඉඳෙද්දිම ඡන්ද රාගය පහ වෙන්න පටන් ගන්නවා. හැබැයි වහල් ස්වභාවයෙන් ඉන්න ඕන. එහෙම කෙනා වැඩි කල් නොගිහින් අභී මාල දඬුවමම ඉවසන තත්වයට පත්වෙනවා. මේක වැටහුනා නම්, අපිට එදිනෙදා තියෙන ප්‍රශ්න මොනවද කියල හිතෙයි.

තවත් වැදගත් කාරණයක් තියෙනවා. වොලිබෝල් කියන්නෙ අපේ ජාතික ක්‍රීඩාව. වොලිබෝල් ක්‍රීඩා කරන දිහා පොඩ්ඩක් බලන් ඉන්න. එක පිලක් බෝලය දැල උඩින් අනෙක් පිල වෙත දමල ගහනවා. ඒ පිල බෝලය රැකල නැවතත් දැල උඩින් අනෙක් පිල වෙත යවනවා. සමහර වෙලාවට එක දිගට ඔය විදිහට මිනිත්තු 4 ක් 5 ක් යනවා. කවුරුවත් බෝලය බාර ගන්නෙ නෑ, අනෙක් පැත්තට යවනවා. මොකද බෝලය බාර ගත්තොත් අනෙක් පිලට ලකුණු ලැබෙනවා. ඒ නිසා බෝලය හැම තිස්සෙම ක්‍රියාත්මකයි. දෙපැත්තට විසි වෙවී තියෙනවා. ඉවරයක් වෙන්නෙ නෑ. ඒ වගේ සසර ගමනෙ යන අයට ද්වේශ බෝල, වෛර බෝල එනවා. සසර ගමන හැදෙන හැටි මේකෙන් හොඳට පේනවා. අපිත් තරඟයට සටනට බැහැල බෝලය ආපසු යවනවා. බැන්නොත් ආපසු බනිනවා. ගැහුවොත් ගහනවා. දොස් කියනවා. සාප කළොත් පෙරලා සාප කරනවා. එකට එක කරනවා. එවන එවන එක ආපසු යවනවා. එතකොට මොකද වෙන්නෙ? තරඟය ඉවර වෙන්නෙ නෑ. බුදු පියාණන් වහන්සේ දේශනා කරන ඉවසීමේ ගුණය පුරුදු කරපු කෙනා, බෝලය බාර ගන්නව මිසක් ආපසු යවන්නෙ නෑ. ඒ කියන්නෙ විපාකය ඉවසීමෙන් බාර ගන්නවා. විපාකය උපනිශ්‍රය කරගෙන නැවත නව කර්ම රැස් කරන්නෙ නෑ.

බැන්නොත් හොඳක් කියනවා. ගැහුවොත් ගුටි කනවා. කරන්න පුළුවන් යුතුකම් සියල්ල ඉවසීමෙන් යුතුව කරනවා. ආපු පාප විපාකය සතුටෙන් බාර ගන්නවා. "ඵුස්ස ඵුස්ස ව්‍යන්තිකරෝති" කියල මේකට කියනවා. ඒ කියන්නෙ ස්පර්ශ කරමින් මොහොතින් මොහොත විපාකය ගෙවා දමනවා. මේ විදිහට විඳල ඉවර කළා නම් පාපය ඉක්මනින් ගෙවෙනවා. ඉවසීමේ ගුණයත් ප්‍රගුණ වෙනවා. මේක අවසාන ගිහි පවුල් ජීවිතය වෙන්න පුළුවන්. කවුරුවත් ඒ බව දන්නෙ නෑ. කාම ලෝකයේ තියෙන සියලු ගනුදෙනු කෙලවර වෙනවා. බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා මහණෙනි, එකම ධර්මයක් තියෙනවා ඔබලට දුරු කරගන්න පුළුවන් නම් අනාගාමී බවට ඇප වෙනව කියල. මොකක්ද ඒ? ද්වේශය නමැති එකම ධර්මය දුරු කරගන්න. ද්වේශය දුරු කරගන්න ක්‍රමය තමයි මේ විස්තර කළේ. ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයෙක් මේ විදිහට කළා නම්, ඔහු හෝ ඇය ගිහි ජීවිතය අවසන් කරන්නෙ අනාගාමී බවට පත් වෙලා. ඒක තමයි ප්‍රතිඵලය. අරිහත් ඵලයෙන් කෙලවර නොකළොත් සුද්ධාවාස බඹ තලයේ ඉපදිලා එතනින් සසර ගමන අවසන් කරනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**
**0777 302407**

# දැන ගත යුතු දහම

**ශ්‍රාවක :** කලින් සාකච්ඡාවෙදි අපි කතා කළේ විජානාති සහ පජානාති ගැන. අද සාකච්ඡාව පටන් ගන්න ඉස්සෙල්ල ඒ ගැන කෙටියෙන් මතක් කරල දුන්නොත් හොඳයි.

**දේශක :** විජානාති සහ පජානාති කියන්නෙ සිංහල භාෂාවෙ තියෙන වචන දෙකක් නෙවෙයි. නමුත් ඒ වචනවල තේරුමට සමාන තේරුම් තියෙන වචන දෙකක් හොයා ගන්න බැරිවුන නිසයි ඒ වචන දෙකම පාවිච්චි කරල ඒවායෙ තේරුම පැහැදිලි කළේ.

මේ ලෝකයේ ජීවත් වෙන කොට අපි අරමුණු හැටියට ගන්න සියලුම රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන ඒවා ඒ අදාල ඉන්ද්‍රියන් හරහා දැනගන්නෙ විජානාති ක්‍රමයට. ඒ කිව්වෙ ඒවා ඇත්තක් නෙවෙයි. විඤ්ඤාණ මායාවෙන් ඒවා ඇත්තක් හැටියට පෙන්වා දෙනවා. ඒ නිසා සාමාන්‍ය පෘතජ්ජනයින් රැවටීමකට අහුවෙලා ඒවා සමග ඇලීමක් හෝ ගැටීමක් ඇති කර ගන්නවා. හැබැයි බුදු රජාණන් වහන්සේගෙන් හෝ උන් වහන්සේගෙන් අහල දැනගත් භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිවුවනක් පිරිසට අයත් කෙනෙක්ගෙන් අහල දැනගත් අය, ඔය මායාවට හසු නොවී ලෝකයෙන් ලැබෙන අරමුණු ගැන දැන ගන්නවා. අන්න ඒ මුලා නොවන ක්‍රමයට දැන ගැනීම තමයි පජානාති කියල කියන්නෙ.

**ශ්‍රාවක:** දැන් මට පැහැදිලියි. ඒත් මම කොහොමද ඔය කියන ප්‍රඥාව ලබාගෙන ලෝකයෙන් එන අරමුනු පජානාති ක්‍රමයට දැනගන්නෙ?

**දේශක :** ඔය වගේම ප්‍රශ්ණයක් එදා ආලවක යක්ෂයත් බුදු රජාණන් වහන්සේගෙන් ඇහුවා, ඒ ප්‍රඥාව ලබා ගන්නෙ කොහොමද කියල. පිලිතුර තමයි ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය.

**ශ්‍රාවක:** මම කොහොමද ඒ වගේ ශ්‍රී සද්ධර්මයක් ශ්‍රවණය කරන්නෙ?

**දේශක :** ඒකට ඔබට කල්‍යාණ මිත්‍රයෙක් හොයාගන්නම වෙනවා. ඔබ අවංකවම උත්සාහ කරනව නම් ඔබට කල්‍යාණ මිත්‍රයෙක් හමුවේවි. ඇයි අහල නැත්ද කියමනක් තියෙනවා, හොයන්නාට හම්බ වෙයි කියල.



**ශ්‍රාවක :** ඒ කියන්නෙ දැන් කල්‍යාණ මිත්‍රයො ඉන්නව කියන එකනෙ?

**දේශක :** අපොයි ඔව්. ඕන තරම් ඉන්නවා. හැබැයි ප්‍රශ්නය, ඇත්තටම කල්‍යාණ මිත්‍රයො නැති එක නෙවෙයි, මේ ලෝකෙ ඉන්න මිනිස්සුන්ට කිසිම ඕන කමක් නැති එකයි, ඒවාට වෙලාවක් නැති එකයි.

**ශ්‍රාවක :**ඇයි එහෙම කියන්නෙ? ඒ සම්බන්ධයෙන් අමිහිරි අත්දැකීම් තියෙනව වගෙයි පේන්නෙ.

**දේශක :** ඔව්, මේ ශ්‍රී සද්ධර්මයේ වටිනාකම තේරුම් අරගෙන අනෙක් අයටත් ශ්‍රවණය කරන්න ඉඩ සලස්වල දෙන්න තියෙන බලවත් ඕනෑකම නිසාම මේ වගේ ධර්ම සාකච්ඡා සංවිධානය කරන විසාල පිරිසක් අපිත් එක්ක ඉන්නවා. ඒ අයගෙන් අහල බලන්න ඕන මේ ධර්ම සාකච්ඡාවකට මිනිස්සු ගෙන්ව ගන්න කොච්චර අමාරුද කියල. මේ සමාජයේ ඉන්න ක්‍රියාකාරී පිරිස මේ සාකච්ඡාවන්ට සම්බන්ධ කර ගන්න හරිම අමාරුයි. දැන් ඒ අය ලෝකෙ අල්ලගෙන කරන වැඩ ටික තමයි ඉතාම වැදගත් කියල හිතාගෙන ඉන්නෙ. විශේෂයෙන්ම අපේ සමාජයේ ඉන්න ක්‍රියාකාරී කණ්ඩායම් මේ සද්ධර්මය සමග සම්බන්ධ වුනොත් මුළු ලංකාවටම ඉතා ඉක්මනින් යහපත උදා වේවි.

**ශ්‍රාවක:** මෙච්චර දියුණු සන්නිවේදන ක්‍රම තියෙන කාලයක ඕකට ඉතින් වෙන ක්‍රම නැත්ද?

**දේශක :** විවිධ ක්‍රම තිබුනත් ඒවා එච්චර සාර්ථක වෙයි කියල මම නම් හිතන්නෙ නෑ. වඩාත් සාර්ථකම ක්‍රමයට තමයි බුදු රජාණන් වහන්සේත් මේ දහම සම්බන්ධව මේ සමාජය දැනුවත් කිරීම එදා කරල තියෙන්නෙ.

**දේශක :** මොකක්ද ඒ විශේෂ ක්‍රමය?

**ශ්‍රාවක :** ඒක තමයි මේ දහම දැනගත් කෙනා නොදත් අයට කියල දෙන එක. දවසක් බුදුන් වහන්සේ ආනන්ද හාමුදුරුවන්ට විශේෂ අවවාදයක් දුන්නා. ඒ තමයි ඔබ මේ සද්ධර්මය දැනගත්ත අන්තිම කෙනා වෙන්න එපා කියන එක. ඒ තමයි මේ දහම ගෙනියන්න තියෙන එකම ක්‍රමය. එතනදි සාසන මග පෙන්වන්න 100% ක්ම උපනිශ්‍රය වෙන්නෙ සත්පුරුෂ සේවනය කියල පෙන්වල තියෙනවා. ඒකට වෙන ක්‍රමයක් නෑ. මම මේ දහම දැනගත්ත අන්තිමය නොවෙන්න නම්, වෙනත් කෙනෙකුට දැනගන්න කියන්නම වෙනවා. මට අඩුම තරමෙ එක් කෙනෙකුට හෝ මේ දහම අවබෝධ කරල දෙන්න බැරි වුනොත්, මම දහම දැනගත්ත අන්තිමය වෙන්න පුළුවන්. ඒ නිසාම තමයි මේ දහම අවබෝධ කරගන්න පරතෝසෝෂක ප්‍රත්‍යය අනිවාර්යෙන්ම අවශ්‍යයි කියල කියන්නෙ.

**ශ්‍රාවක:** පරතෝසෝෂක ප්‍රත්‍යය විස්තර කරල දෙන්න.

**දේශක :** කල්‍යාණ මිත්‍ර සේවනයයි, ශ්‍රී සද්ධර්මශ්‍රවණයයි තමයි පරතෝසෝෂක ප්‍රත්‍යය කියල කියන්නෙ. ( මජ්ජිම නිකාය 1 මහා වේදල්ල සූත්‍රය - 691 පිටුව )

**ශ්‍රාවක:** ඒ කියන්නෙ මේ දහම දන්න කෙනෙක්ගෙන්

අහගන්නව හැර වෙන ක්‍රමයක් ඇත්තෙම නෑ නේද?

**දේශක :** ඔව්, ඒක තමයි ඇත්ත. ඒ නිසා තමයි බුදු රජාණන් වහන්සේ යමෙකුට මේ දහම අවබෝධ කරගන්න අනිවාර්යෙන්ම අවශ්‍ය අංග 4 විදිහට කල්‍යාණ මිත්‍ර සේවනය, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම පටිපදාව කියන කාරණා 4 දේශනා කරල තියෙන්නෙ ( සංයුක්ත නිකාය 5-2, 255 පිටුව - එල සූත්‍රය )

**ශ්‍රාවක:** ඒ විදිහට මේ ශ්‍රී සද්ධර්මයේ වටිනාකම දැනගත්ත පිරිස තමයි එහෙනම් මේ ධර්ම සාකච්ඡා සංවිධානය කරන්න නිතරම උත්සාහ ගන්නෙ. හැබැයි ඒ ගොල්ලො ඒක දැනගෙන කළාට මම කොහොමද දන්නෙ, ඔය සාකච්ඡාවලින් පෙන්වල දෙන්නෙ ශ්‍රී සද්ධර්මයමයි කියල.

**දේශක :** ඒක දැනගන්න ඕනමනම් ඔය ධර්ම සාකච්ඡාවකට සම්බන්ධ වෙලා අහල බලන්නම වෙනවා. එහෙම කරන්න කියල බුදු රජාණන් වහන්සේත් දේශනා කරල තියෙනවා. ඒ විස්තරය තියෙන්නෙ මහාපදේසදේසනා සූත්‍රයේ. (අංගුත්තර නිකාය 2 - 326 පිටුව )

එතනදි මෙහෙම පෙන්වල දෙනවා. කවුරුහරි ධර්මය කියල දෙනවනම් ඒක හොඳින් අහගන්න, හැබැයි පිළිගන්නත් එපා, අහක දාන්නත් එපා. ඒ කරුණු කාරණා හොඳට විමර්ශනය කරල බලන්න. සූත්‍රයට විනයට සැසඳෙනවද කියල බලන්න. ඒවායින් ඔබේ රාග වෙන එක, ද්වේශ වෙන එක, මෝහ වෙන එක අඩු වෙනවද කියල බලන්න. චතුරාර්ය සත්‍ය ධර්මයට ගැලපෙනවද කියල බලන්න. පටිච්ච සමුප්පාද ධර්මයට බහා හිටිනවද බලන්න. එහෙනම් බාරගන්න, නැත්තම් අයින් කරල දාන්න.

**ශ්‍රාවක :** ඉතිං ඔය ටික කරන්න පුළුවන් වෙන්නෙ ඒ පුද්ගලය දහම කලින් දන්නවනම් විතරයිනෙ?

**දේශක :** ඉතිං ඒ පුද්ගලය ඒ වෙලාවෙ අහල තිබුණෙ ශ්‍රී සද්ධර්මය නම්, ඒ වෙනකොට ඔහු දහම දන්නවනෙ. හැබැයි මේ ධර්මයට ගැළපෙනවද, සැසඳෙනවද, බහා හිටිනවද කියල බලන්න... ආදී වශයෙන් කිව්වම, ඒ ධර්ම දේශකයා හෝ ගුරුවරයා ඒක බලන හැටිත් කියල දෙන්න ඕන. එහෙම නැතිව මුලින්ම ඒක තමන්ට තනියෙන් තෝර ගන්න බෑ. කියල දුන්නට පස්සෙ තනියෙන් තෝර ගන්න පුළුවන්. ඒ නිසා පටිච්ච සමුප්පාද ධර්මයට බහා බලන්න කියල නිකම්ම කිව්වට හරියන්නෙ නෑ. ඒක කරන හැටි ශ්‍රාවකයන්ටත් කියල දෙන්න ඕන. ඉතින් ගුරුවරයෙක් මාර්ගයෙන් ඒක දැන ගන්නව මිසක් තනියෙන් බලා ගන්න බෑ. ගුරුවරයා හේතුඵල විග්‍රහ කරල දෙන්න ඕන. ඉතින් මේ මහාපදේසදේසනා සූත්‍රයේ සඳහන් කරුණු අරිහත්වයට පත් වෙනකල් හැම කෙනෙකුටම වැදගත්.

මං දන්නව මේක ඔබට ටිකක් තේරුම් බේරුම් කරගන්න අමාරු කතාවක් බව. ඔය ගැටළුව බුදු රජාණන් වහන්සේ විසඳල දීල තියෙනවා. ඒ තමයි අංගුත්තර නිකායෙ 2 වන කාණ්ඩයේ 347 වන පිටුවේ එන ද්විතීය වත්සකාර සූත්‍රයෙන්. ඒ සූත්‍රයෙදි සත්පුරුෂයා හැටියට විස්තර කරල දීල තියෙන්නෙ, මේ දහම අවබෝධ කරගත්ත කෙනෙක්. එතනදි අසත්පුරුෂයෙක් හැටියට විස්තර කරල දීල තියෙන්නෙ මේ දහම නොදත් අය. ඉතා පැහැදිලිව දේශනා කරල තියෙන ආකාරයට අසත්පුරුෂයෙකුට සත්පුරුෂයෙක් හඳුන ගන්න බෑ. සත්පුරුෂයෙක් හඳුනගන්න පුළුවන් වෙන්නෙ තවත් සත්පුරුෂයෙකුට විතරයි.

**ශ්‍රාවක :** ඒ කිව්වෙ මොකක්ද කියල තව ටිකක් විස්තර කරල දෙන්න.

**දේශක :** ඒ කියන්නෙ මේ දහම දැනගත්තු කෙනෙකුට විතරයි, දහම කියා දුන්නු කෙනා දහම දැනගත් අයෙක් බව හඳුන ගන්න පුළුවන් වෙන්නෙ. දහම නොදත් අයෙකුට, දහම කියල දුන්න කෙනා දහම දත් අයෙක්ද, දහම නොදත් අයෙක්ද කියල වෙන්කරල හඳුන ගන්න බෑ.

**ශ්‍රාවක:** ඒ කියන්නෙ ඕනෑම දේශකයෙකුට ඕනෑම දෙයක් ශ්‍රී සද්ධර්මය විදිහට දේශනා කරන්න පුළුවන්. හැබැයි ශ්‍රාවකයා දහම අවබෝධ කරගත්තොත් විතරයි ඔහුට දැනගන්න පුළුවන් වෙන්නෙ, ඒ අහන්න ලැබුණෙ ශ්‍රී සද්ධර්මයයි කියල. බැරි වෙලාවත් ඒ දේශනාවෙදි ඔහුට දහම අවබෝධ වුනේ නැත්තම් ඔහු දන්නෙ නෑ දේශකයා කිව්වෙ මොනවද කියල.

**දේශක :** හරියට හරි, දැන් ඔබට තේරුම් ගිහින් තියෙනවා. ඔය හේතුව නිසාම තමයි බුදු රජාණන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලයෙත් අදත්, ශ්‍රී සද්ධර්මයයි කියල වරදවා වටහාගෙන විවිධ ආකාරවලින් මේ ශ්‍රී සද්ධර්මයයි කියල දහම් දෙසන දේශකයන් වටා විවිධ කණ්ඩායම් හැදිල තියෙන්නෙ. හැබැයි ශ්‍රාවකයන් බුදු රජාණන් වහන්සේ දේශනා කළ මහාපදේසදේසනා සූත්‍රය අනුව කටයුතු කෙරුවනම් ශ්‍රී සද්ධර්මය වටා එකතු වන කණ්ඩායම් බිහිවෙනවා. තේරුම් ගන්න බැරි අය ඉතින් ඒ අයගෙ මතයන්ට අනුව වෙනත් කණ්ඩායම් හදා ගනීවි.

**ශ්‍රාවක:** ඒ කියන්නෙ මම නිවැරදි ශ්‍රී සද්ධර්මය අවබෝධ කරගන්නකල්ම එක එක දේශකයන්ගෙන් ධර්මය අහල දැනගෙන ඒවා විමර්ශනයට ලක් කරමින් තව තවත් දේශකයන් සොයමින් සැරිසරන්න වෙනව නේද?

**දේශක :** ඔව්, ඔබට චතුරාර්ය සත්‍යය දැකගන්න කල්ම දහම් සොයමින් කටයුතු කරන්න සිද්ධ වෙනවා. ඔය ගැන බුදු රජාණන් වහන්සේ ඉන්ද්‍රඛීල සූත්‍රයෙන් (සංයුක්ත නිකායේ 5-2, 303 පිටුව) පෙන්වා දීලත් තියෙනවා. චතුරාර්ය සත්‍යය අවබෝධ කර නොගත් ශ්‍රාවකයාට විවිධ දේශකයන් පසුපස යන්න සිද්ධ වෙන්නෙ, හරියට විවිධ දිසාවලින් හමන සුළඟට අහුවෙච්ච කපු පුළුන් රොදක් වගේ කියල ඒ සූත්‍රයේ උපමාවකින් පෙන්වා දීල තියෙනවා. ඒ විතරක් නෙවෙයි, චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත් ශ්‍රාවකයා, පොළොවෙ හොඳින් හිටවල තියෙන යකඩ උලක් වගේ කොයි දිසාවෙන් සුළඟ හැමුවත් ගසාගෙන නොගොස්, නොසෙල්වී ස්ථාවරව සිටින බවත් සඳහන් වෙනවා.

**ශ්‍රාවක:** ඒ කියන්නෙ චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත්තට පස්සෙ විවිධ දේශකයන් පසු පස දහම සොයමින් යන්න අවශ්‍ය වෙන්නෙ නෑ කියන එකද?

**දේශක :** ඔව්. චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත් ආර්ය ශ්‍රාවකයාට පර ප්‍රත්‍ය හෙවත් අනුන්ගෙ ආධාරයක් අවශ්‍ය නොවන බව ධර්මයේ සඳහන් වෙනවා. හැබැයි නිවන් පූර්ණ කරගන්න කල්ම කල්‍යාණ මිත්‍ර සේවනයත්, ශ්‍රී සද්ධර්ම

ශ්‍රවණයත් මග වැඩීම සඳහා උපකාර වන බවත් ධර්මයේ සඳහන් වෙනවා.

**ශ්‍රාවක :** ඔය විශේෂයෙන් සංවිධානය කරල පවත්වන ධර්ම සාකච්ඡාවලින් ශ්‍රාවකයන්ගෙ අවධානයට ලක්කරන වැදගත් දහම් කරුණු කීපයක් පැහැදිලි කරල දෙන්න පුළුවන්ද?

**දේශක :** දැනට අපේ රටේ ඉන්න බෞද්ධ පින්වතුන් සාමාන්‍යයෙන් කරන දාන, සීල, භාවනා.... ආදී කටයුතුවලට සම්බන්ධ වීම අවැඩක් නොවන බවත්, නමුත් සතර අපායෙන් මිදෙන්න ඒවා ප්‍රමාණවත් නොවන බවත් මුලින්ම පෙන්වල දෙන්න වෙනවා. අපි මේ ලෝකය සමග බැඳිල කරන සියලු කටයුතු කරන්නෙ, ලෝකයේ ඇත්ත නොදැන ලෝකය පිළිබඳ අවිද්‍යාවේ දෘෂ්ටියකට බැහැල ඉන්න නිසා කියල ඊළඟට කියන්න වෙනවා.

**ශ්‍රාවක :** ඔය කියන්නෙ මිථ්‍යා දෘෂ්ටිය ගැන නේද?

**දේශක :** ඔව්. ඔබ තරමක් දුරට හරි. මොකද මිථ්‍යා දෘෂ්ටිය කියන්නෙ සතර අපාගත කරන එකක්. එහෙම නැතිව ලෝකයේ සුගති තැන් හොඳයි කියල ඒ තැන්වලට ගෙනියන අවිද්‍යාවෙ දෘෂ්ටි තියෙනවා. ඒ දෘෂ්ටියෙන් කටයුතු කරන විවිධ ආගම්, නිකායවල් තියෙනවා.

**ශ්‍රාවක :** එහෙනම් ඉතින් ඒ ප්‍රශ්නය තියෙන්නෙ අන්‍ය ආගම්වල අයට විතරයිනෙ. බුද්ධාගමේ අපිට මිථ්‍යා දෘෂ්ටිය නැනෙ?

**දේශක :** මිථ්‍යා දෘෂ්ටිය කියන වචනයේ තේරුම හරිහැටි නොදැනයි එහෙම කියන්නෙ. කෙහොමටත් මිථ්‍යා දෘෂ්ටිය කියන්නෙ සිංහල භාෂාවෙ වචනයක් නෙවෙයි. ඒක සංස්කෘත වචනයක්. සිංහල වචනය තමයි මිස දිටු. හැබැයි මෙතනදි ප්‍රධාන වශයෙන් කතා කරන්නෙ අවිද්‍යාවේ දෘෂ්ටි ගැන.

**ශ්‍රාවක:** ඒ කියන්නෙ සිංහලෙන් වැරදි දැකීම කියන එකනෙ. හරි දැකීම කියන්නෙ සම්මා දෘෂ්ටියටනෙ. මමත් ඒ වචනවල තේරුම දන්නවා. ඇයි ඒක වැරදිද?

**දේශක :** එහෙනම් කියන්න බලන්න, ඔබ වැරදියට දැකල තියෙන්නෙ මොකක්ද කියල.

**ශ්‍රාවක:** අපේ ජීවිතය ගැන. අපි ජීවත් වන විදිහ ගැන.

**දේශක :** ඒ කියන්නෙ දැන් ඔබ ජීවත් වෙන්නෙ වැරදි විදිහටද?

**ශ්‍රාවක:** ඔව්. මට තාම හරියට පන්සිල් පද පහවත් රැක ගන්න බෑ.

**දේශක :** ඔබ ඔය විදිහට ඇත්තම කියන එකට නම් ගරු කරන්න ඕන. තමන් වැරදි බව දන්න අයට තමයි ඉක්මනින් නිවැරදි වෙන්න පුළුවන් වෙන්නෙ. ඔබ දන්නෙ නැත්ද ඔබට පන්සිල් පද පහ රැක ගන්න බැරි වෙන්නෙ ඇයි කියල ?

**ශ්‍රාවක:** මං හිතන්නෙ මට එච්චර ඕනකමක් නැතුව ඇති. එහෙම නැත්නම් ඒකෙ තියෙන වැදගත්කම මට අවබෝධ වෙලා නැතුව ඇති.



**දේශක :** මමත් හේතු කිහිපයක් කියන්නම්. හොඳට හිතල බලන්න ඒවා ඇත්තද කියල.

ඔබ මේ ලෝකෙ ඇත්ත දැකල නෑ. රැවටීමකට අහුවෙලා, හරි වටිනව කියලයි හිතාගෙන ඉන්නෙ. ඒ විතරක් නෙවෙයි, ඔබට මේ ලෝකෙ ඇත්ත දැනගන්න උවමනාවකුත් නෑ. ඒකට වෙලාවකුත් නෑ. නිතරම උත්සාහයත්, වීර්යත් යොදවල කරන්නෙ ඇස, කන, නාසය, දිව ආදී ඉන්ද්‍රියන් පිනවන එක. එහෙම නැත්නම් ඉන්ද්‍රියන් පිනවීමට අවශ්‍ය වටපිටාව සකස් කර ගන්න එක විතරයි. මිතුරෙක් ඔබට ධර්ම සාකච්ඡාවකට එන්න කියල ආරාධනා කළත්, ඔබට එන්න වෙලාවකුත් නෑ, ආවත් ඒක සම්පූර්ණයෙන් අහගන්නෙ නෑ. ඔබේ ජීවිතයෙන් පැය කිහිපයක් හෝ ධර්මය නිවැරදිව දැන ගන්න යොදවන්නෙත් නෑ. හැම තිස්සෙම ඔබට කරන්න වැදගත් වැඩක් තියෙනවා. ඒක ඔබේ පවුලේ හෝ වැදගත් මිතුරෙකුගේ හෝ රැකියාවේ හෝ වැඩක් වෙන්න පුළුවන්. ඒත් ඔබට ඔබ ගැන හොයන්න වෙලාවක් ඇත්තෙම නෑ.

**ශ්‍රාවක:** ඔය කිව්ව කරුණු නම් ඔක්කොම ඇත්ත තමයි. එතකොට මට කවදාවත් ඇත්ත දකින්න බැරිද?

**දේශක :** අනන්ත සංසාරෙම ඔබ ඔය විදිහට ඉන්න ඇති. බුදු රජාණන් වහන්සේලා ළඟට යන්නත් මිතුරන් ඔබට අඬගහන්න ඇති. එදත් ඔබට ඊටත් වඩා ලොකු වැඩ තියෙන්න ඇති. අදවත් ඔබට ධර්ම සාකච්ඡාවකට පැය කිහිපයක් වෙන් කරගන්න බැරිනම් මේ අත්භවයෙදිත් දහම දකින්න බැරි වෙයි. හැබැයි ඔබේ ඔය ස්ථාවරය වෙනස් කරගෙන, ඔබේ ජීවිතයෙන් පැය කීපයක් මේ වෙනුවෙන් කැප කරන්න පුළුවන්නම් දහම දැකගන්න පුළුවන්. කල්‍යාණ මිත්‍ර සේවනය, ශ්‍රී සද්ධර්මය ශ්‍රවනය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම පටිපදාව කියන අංග හතර වැඩි වැඩියෙන් භාවිතා කරනව නම් (වඩවා ගන්නව නම්) සෝවාන් ඵලය ලබන බව සංයුක්ත නිකායේ 5-2 කාණ්ඩයේ 252 පිටුවේ එන ඵල සූත්‍රයෙන් හොඳින් විස්තර කරල තියෙනවා.

**ශ්‍රාවක:** අනේ ඉතින් අපිට පිං මදි වෙන්න ඇති. නැත්තම් මේ වෙනකොටත් ඔය ධර්මය අපිට ඇහිල තියෙන්න ඕන නේද?

**දේශක :** ඒ කථාවනම් මම කොහෙත්ම අනුමත කරන්නෙ නෑ. ඔබ කොහොමද දන්නෙ පින් ඇතිද, මදිද කියල? ඒක තමන්ගෙ තියෙන කම්මැලිකම වහගන්න කියන කතාවක් කියලයි මට හිතෙන්නෙ. පොඩ්ඩක් කල්පනා කරල බලන්න, තමන්ගෙ ජීවිතයෙන් කොච්චර කාලයක් ධර්මය අහන්න යොදවනවද කියල. සාමාන්‍ය මනුස්සයෙක්ගෙ ජීවිතයෙන් අවුරුදු 40 ක් විතර හොඳින් ක්‍රියාත්මක වෙන්න පුළුවන් කාලයක් තියෙනවා. ඒක දින විදිහට බැලුවොත් දින 14,600 ක්. අඩුම තරමෙන් දින 100 ක් වත් හරියට ධර්මයක් අහන්න

යොදවන්නෙ නැතුව, පින් මදි කියල කියන එකේ තේරුමක් තියෙනවද?

**ශ්‍රාවක:** දින 100 ක් තියා හරියට පැයක්වත් බණ අහන්න බැරි අය තමයි අද වැඩිපුර ඉන්නෙ.

**දේශක :** චතුරාර්ය සත්‍යය කියල දෙන ධර්ම සාකච්ඡාවක් සාමාන්‍යයෙන් පැය 4 ක් 5 ක් තියෙනවා. අඩුම තරමින් ඒ වගේ සාකච්ඡා 10 කටවත් උනන්දුවෙන් සහභාගි වෙලා, ඒත් වැටහුනේ නැත්නම් පින් මදි කියල හිතාගත්තත් කමක් නෑ.

**ශ්‍රාවක :** ඔය පින් මදි අයට ධර්මය අවබෝධ කරගන්න ක්‍රමයක් ඇත්තෙම නැත්ද?

**දේශක :** අවශ්‍ය පාරමිතා පිරිල නැත්නම් මේ අත්භවයෙදි නිවන් දකින්න බෑ තමයි. හැබැයි ඒක අපිට බලා ගන්න විදිහක් නෑ. ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි ඒක හරියටම කියන්න පුළුවන් වෙන්නෙ. ඉතින් මේ දහම අහල තේරෙන්නෙම නැත්නම් ත්‍රිහේතුක ඥාන සම්ප්‍රයුක්තව පින් දහම් කරල පාරමිතා පූර්ණ කරගන්න වෙනවා. පාරමිතා පිරිලත් අවබෝධ වෙච්ච නැති අයට අවබෝධ වෙනකල්ම දහම අහන්න වෙනවා. මොකද උග්ඝටිතඤ්ඤ, විපඤ්චිතඤ්ඤ, නෙයිය, පදපරම කියන කොටස් හතරෙන් අද වෙන කොට වැඩිපුරම ඉන්නෙ ඤෙයිය හා පදපරම කියන කොටස්. එයින් පදපරමයින්ට මේ අත්බවේ නිවන් දකින්න බෑ. ඤෙයිය කියන කොටසට දහම් අවබෝධ වෙන්න උදාහරණ උපමා දීල සෑහෙන විස්තර ඇතිව කියන්න වෙනවා.

නිවන් දකින්න කැමැත්තක් තියෙන අයට ඒකාන්තයෙන්ම හිත අභ්‍යන්තරයේ අමෝහය තියෙනවා. අමෝහය නැත්නම් නිවන් දකින්න කැමැත්තක් එන්නෙත් නෑ. නමුත් කැමැත්ත තිබිලත් දහම අවබෝධ නොවෙන්න වෙනත් හේතු තියෙන්න පුළුවන්. සමහර විට හරි දහම අහු නොවෙන්න පුළුවන්. හරි දහම අහු වුණත් නෙයිය කියන පුද්ගලයන්ට සෑහෙන කාලයක්, සෑහෙන වාරයක් කියන කොට තමයි වැටහෙන්නෙ. නමුත් මේ ඉන්න පුද්ගලයො කොහොම අයද කියල අපිට නිගමනය කරන්න බෑ. ඒ නිසා වැටහෙන කල්ම දහම අහන්න ඕන, ඊට උපනිශ්‍රය වන අනු දහම්වල, වත් පිළිවෙත්වල යෙදෙන්න ඕන. සතර සම්‍යක්ප්‍රධාන වඩන්න ඕන. එතකොට මදි පාඩුවක් තියේනම් ඒක පිරෙන්න හේතු වෙනවා.

**ශ්‍රාවක :** ඇත්තම කියනවනම් මමත් ඔය පැය 4 ක් 5 ක් ධර්මය සාකච්ඡා කරන දේශනාවලට වැඩිය සම්බන්ධ වෙලා නෑ. ඉතින් අපි හොඳ බෞද්ධයො වෙලත් ඇයි අපිට එහෙම වෙන්නෙ?

**දේශක :** ඔබ තවම මේ ධර්මයේ තියෙන වටිනාකම දන්නෙ නෑ. ඔබ අවුරුදු 50 ක 60 ක ජීවිත කාලය තුළ හිතන, පතන, කියන, කරන වැඩවලින් අවුරුදු කෝටි ගාණක් සතර අපාවල දුක් විඳින්න සිද්ධ වෙන බව දන්නෙ නෑ. ලෝකෙ තියෙන ප්‍රියමධුර දේවල් අපිව මාරයාගේ උගුලට අහුකර ගන්න දාපු ඇමක් වග ඔබ දන්නෙ නෑ. ඔබ සැප පසු පස හඹා යනකොට දස අකුසලයම සිද්ධවෙන බව දන්නෙත් නෑ. ඔබ ආස්වාද කියල විඳින්නෙ ඔබම හදාගත් විඤ්ඤාණ මායාවකින් ගොඩනගා ගත් මනෝ සංකල්පයක් බව දන්නෙ නෑ. ඔබ මේ ලෝකය අනිච්ච බව, දුක්ඛ බව, අනත්ත බව දන්නෙත් නෑ. කොටින්ම ඔබ මේ ලෝකය අල්ලගෙන කරන කිසිම දෙයක හරයක් නැති බව දන්නෙ නෑ.

**ශ්‍රාවක :** දැන් බලාගෙන යනකොට මම මේ ධර්මය කියල දන්නෙ වන්දනා මාන කරන ගාථා ටික විතරයි කියලයි මට හිතෙන්නෙ?

**දේශක :** ධර්මය දැනගන්න, ධර්මය දැකගන්න, ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන්න කියල මම ඔබට ආරාධනා කරනවා.

**ශ්‍රාවක :** ඔව්. මම අනිවාර්යයෙන්ම ධර්ම සාකච්ඡාවට සම්බන්ධ වෙනවා. මම ධර්මයේ තියෙන වටිනාකම වටහාගෙන නැති බව දැන් මට වැටහෙනවා. දැන් එතකොට, අපි කාටවත් වැරැද්දක් කරන්නෙ නෑ, කෙරුවොත් අනිවාර්යෙන් උදව්වක් තමයි, ඒ නිසා අපිට වරදින්නෙ නෑ කියල හිතාගෙන ඉන්න පිරිස දහම දැකලද?

**දේශක :** ඒක මට හරියටම කියන්න බෑ. හැබැයි ඔය කියන විදිහට ඉඳල සතර අපායෙන් ගැලවෙන්න පුළුවන් කියල නම් ධර්මයේ සඳහන් වෙලා නෑ.

**ශ්‍රාවක:** එහෙනම් කොහොම හිටියමද සතර අපායෙන් ගැලවෙන්න පුළුවන් වෙන්නෙ?

**දේශක :** ඔය ප්‍රශ්නෙට උත්තර දෙන්න වෙන්නෙ පැය 4 ක 5 ක ධර්ම සාකච්ඡාවකින් තමයි. කොහොම වුණත් මම යම් තරමක් දුරට විස්තර කරල දෙන්නම්. අංගුත්තර නිකායේ පළවන කාණ්ඩයේ මංගල වග්ගයේ 527 වෙනි පිටුවේ බුදු රජාණන් වහන්සේගෙ දේශනාවක් තියෙනවා. කවුරු හරි හිතන කියන ඒවා අකුසල් නම්, ඒ පුද්ගලයා ගෙනිහින් තිව්ව වගේ අපායට යනවා. ඒ වගේම හිතන කියන ඒවා කුසල් නම්, ගෙනිහින් තිව්ව වගේ දිව්‍ය ලෝකෙ යනව කියල ඒ දේශනාවෙ සඳහන් වෙනවා. ඒ වගේම මජ්ඣිම නිකායේ පළමු කාණ්ඩයේ එන <u>සම්මා දිට්ඨි සූත්‍රයෙන්</u> ලෝභ, ද්වේශ, මෝහ අකුසල මූලයන් බවත්, අලෝභ, අද්වේශ, අමෝහ කුසල මූලයන් බවත් පැහැදිලිව දක්වා තියෙනවා.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මම ලෝභයෙන්, ද්වේශයෙන් කරන වැඩවලින් පහත් තත්වයකට ඇද වැටෙනවා, අලෝභයෙන්, අද්වේශයෙන් කරන වැඩවලින් උසස් තත්වයකට පත් වෙනව කියන එකනෙ.

**දේශක :** හරියට හරි. දැන් ඔබ හිතල බලන්න, ඔබ වැඩිපුරම කරල තියෙන්නෙ ලෝභ, ද්වේශ වැඩද, අලෝභ, අද්වේශ වැඩද කියල. ඔබට යම් තරහක් නුරුස්සන ස්වභාවයක් යම් පුද්ගලයෙක් සමග ඇති වෙලා තියෙනවනම්, ඒක මතක්වෙන වාරයක් පාසාම ඔබ ද්වේශ බවට පත්වෙනවා. ඒ විතරක් නෙවෙයි, අවුරුදු ගණනාවක් ගියත් ඒක අමතක වෙන්නෙ නෑ. ඒ වගේම අලෝභ, අද්වේශ වෙච්ච අවස්ථාත් ඇති. හැබැයි ඒවා නිතර නිතර මතක් වෙනවද? උදාහරණයක් හැටියට ඔබ අනිවාර්යෙන්ම භික්ෂූන් වහන්සේලාට දන් පිරිනමල ඇති. නමුත් භික්ෂූන් වහන්සේ නමක් දැක්කම, ඔබට භික්ෂූන් වහන්සේලාට දානය දුන් බව මතක් වෙනවද?

**ශ්‍රාවක:** ඇත්ත තමයි දැනුයි මට තේරුණේ මම කරන්නෙ මෝඩ වැඩක් කියල. ඒකනේ මම ලෝභ, ද්වේශ, මෝහ වෙච්ච ඒවා නැවත මතක් කර කර නැවතත් ලෝභ, ද්වේශ, මෝහ තත්වයට පත්වෙන්නෙ. හැබැයි අලෝභ, අද්වේශ, අමෝහ ඒවා මතක් කර කර නැවත නැවත අලෝභ,

අද්වේශ, අමෝහ වෙන සිරිතක් නැහැනෙ.

**දේශක** : ඔබ ලෝභ, ද්වේශ වෙන්නෙ මෝහ නිසාම තමයි. ඒ වගේම අලෝභ, අද්වේශ වෙන්නෙ ඔබ අමෝහ නිසා. තවත් උදාහරණයක් තියෙනවා. යම් කෙනෙක් ඔබට උදව් කළ අවස්ථාවකදි ඔබ ඔහුට ස්තුති වන්ත වෙන කොට කොච්චර බලයකින් එහෙම කරනවද? ඒ වගේම යම් අයෙක් සමග උරණ වෙලා ඔහුට බැණ වදින අවස්ථාවකදි ඒක කොච්චර බලයකින් කරනවද?

**ශ්‍රාවක**: කාටහරි බනින්න ඕන වුනාම තමයි උපරිම වෙර යොදල බනින්නෙ. හැබැයි උදව්වක් කරල ස්තුතියි කියනකොට නම් ඒ තරම් වෙර වීරියක් ගන්නෙ නෑ.

**දේශක** : දැන් හොඳින් ගැඹුරින් කල්පනා කරල බලන්න. ඔබ වැඩි වාර ගණනක් කරන්නෙත් ලෝභ, ද්වේශ වැඩ. ඒ විතරක් නෙවෙයි, වැඩි බලයකින් කරන්නෙත් ලෝභ, ද්වේශ වැඩ. දැන් ඉතින් ඔබ යන්නෙ කොහාටද කියල කවුරුවත් කියල දෙන්න ඕනද?

**ශ්‍රාවක**: හිතන්න දෙයක් නෑ, අපායෙ තමයි.

**දේශක** : ඔබ බොහොම නිර්භීතව අපායෙ යන බව ප්‍රකාශ කළත් ඔබට අපායෙදි වෙන දේ ගැන වැටහීමක් තියෙනවද ?

**ශ්‍රාවක** : ඇත්තම කියනවනම් ඒ ගැන වැටහීමක් නෑ.

**දේශක** : ත්‍රිපිටකයේ සඳහන් වෙනවා සංජීව කියල නිරයක් ගැන. ඒ නිරයෙ එක දවසක් ගතවෙන්න අපේ ලෝකෙ අවුරුදු ලක්ෂ 09 ක් ගත වෙනවලු. ඒ සංජීව නිරයේ පරමායුස අපේ ලෝකෙ අවුරුදුවලින් කෝටි 16425 ක් කියලත් සඳහන් වෙනවා. එතකොට නිකමට හරි සංජීව නිරයට ගියොත් නැවත එන්න වෙන්නෙ කවදද?

**ශ්‍රාවක**: මාව බය කරන්නද හදන්නෙ? ඇත්තටම ඉතින් අපායෙ යන්න වෙනවනම් බය වෙන්න වෙනව තමයි. හැබැයි අපාය සම්බන්ධ ඔය වගේ භයානක කරුණු දැනගෙනත් බයක් නැතුව ඉන්නෙ ඇයි?

**දේශක** : ඒ අපාය අපේ ඉන්ද්‍රියන්ට ගෝචර නැති නිසා. නමුත් ඉතින් තිරිසන් අපාය නම් හොඳට පේන්න තියෙනවා. අපායට බය වෙලා හරි අපායෙන් මිදෙන ක්‍රමය දැනගත්තොත් ඔබට හොඳක් තමයි වෙන්නෙ. මේ දහම දැකල සම්මා දිට්ඨියට පත් වුණොත් ඔබ නැවත අපාගත වෙන්නෙ නෑ. නමුත් ඇත්තටම අපායක් තිබුණත් නැතත්, ඒ වගේම දිව්‍ය ලෝකයක් තිබුණත් නැතත්, මේ භවයෙදිම සැනසීමක් ලබාගන්න පුළුවන් ක්‍රමයක් අංගුත්තර නිකායේ පළමු කාණ්ඩයේ එන කාලාම සූත්‍රයෙන් විග්‍රහ කරල තියෙනවා. සමාජයේ ජීවත් වෙන ඕනෑම කෙනෙක් අධිකව ලෝභයෙන්, ද්වේශයෙන් වැඩ කළොත් ඒ පුද්ගලයා උසස් තත්වයකට පත්වෙයිද, පහත් තත්වයකට පත්වෙයිද?

**ශ්‍රාවක** : අපොයි, පහත් තත්වයකට පත්වෙනවා. කුණු ලෝභයෙක් කියලත් කියයි.

**දේශක** : අලෝභයෙන්, අද්වේශයෙන් ජීවත් වෙන අයෙකුට සමාජයේ මොන වගේ තත්වයක්ද තියෙන්නෙ?

**ශ්‍රාවක** : ඒ පුද්ගලයට හොඳ පිළිගැනීමක් තියෙනවා. සමහර වෙලාවට හරි නිවිච්ච මනුස්සය කියලත් කියනවා. සමහර අයට දෙවියෙක් කියලත් කියනවා.

**දේශක** : දැන් ඔය ටික මදිද බුදු රජාණන් වහන්සේගෙ දේශනය සත්‍ය බව තමන්ටම දැන ගන්න? තමන්ට පහත් තත්වයකට වැටෙන්න ඕන කමක් නැත්නම් කරන්න තියෙන්නෙ අලෝභයෙන්, අද්වේශයෙන් වැඩ කරන එකනෙ.

**ශ්‍රාවක** : දැන් මට තේරෙනවා, මං දැකල තියෙන්නෙ වැරදියට තමයි කියල. ඇත්තටම එහෙනම් මිත්‍යා දෘෂ්ටිය/වැරදි දැකීම කියල කියන්නෙ මම මොකක් වැරදියට දැක්ක විදිහද?

**දේශක** : මිත්‍යා දෘෂ්ටිය කියන එකේ තේරුම වැරදි දැකීම තමයි. හැබැයි ඔබ වැරදියට දැකල තියෙන්නෙ මොකක්ද කියල දැන ගන්න බොහොම වැදගත් සූත්‍රයක් තියෙනවා. ඒ තමයි සංයුක්ත නිකායේ 4 වන කාණ්ඩයේ 291 පිටුවේ එන මිත්‍යා දෘෂ්ටි පහාන සූත්‍රය. ඒ සූත්‍රයෙදි බුදු රජාණන් වහන්සේ පෙන්වා දීල තියෙනවා, අපේ ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් හයට රූප, ශබ්ද, ගන්ධ, රස... ආදී ස්පර්ශයක් ලැබුණම හට ගන්න විඤ්ඤාණ හයත්, සම්ඵස්සයක් හටගත්තට පස්සෙ දැනෙන සුව හෝ දුක් හෝ නොදුක් නොසුව වේදනාවත් අනිසි බව දැනගෙන තමන්ම ඒක දැක ගන්න කියල. ඒ කියන්නෙ ඇස අනිසියි, ඇසට පෙනෙන දෙය අනිසියි, ඇසට රූපයක් ගැටුණම උපදින විඤ්ඤාණයත් අනිසියි, ඇසයි, රූපයයි, චක්ඛු විඤ්ඤාණයයි කියන තුනේම සංගතියෙන් ඉපදෙන චක්ඛු සම්ඵස්සයත් අනිසියි, චක්ඛු සම්ඵස්සයෙන් උපදින සුව හෝ දුක හෝ නොදුක් නොසුව දැනීම් තුනම අනිසියි, මේ බව දැනගෙන තමන්ගෙම ප්‍රඥාවෙන් ඒක දැකගන්න කියල.

**ශ්‍රාවක** : සමාවෙන්න, මටනම් මුකුත්ම තේරෙන්නෙ නෑ.

**දේශක** : ඔබ මේ ධර්මයේ භාවිතා කරන වචනවලට එච්චර හුරුවෙලා නෑ වගේ. මම වෙනත් විදිහකින් කියල දෙන්නම්. ඔබ දන්නවා, අපි හැමෝටම ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස කියල ඉන්ද්‍රියන් හයක් සහ ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියල අරමුණු හයක් බාහිර ලෝකයේ තියෙනවා. ඇහෙන් රූප බලල විඳිනවා, කනෙන් ශබ්ද අහල විඳිනවා. ඒ විදිහට හය ආකාරයකට මේ ලෝකය විඳගන්නවා. දැන් පැහැදිලි වුණාද?

**ශ්‍රාවක** : ඔව්. ඔය කියන්නෙ අපේ ඉන්ද්‍රියන් හය පාවිච්චි කරල ලෝකෙ තියෙන ඒවාට අදාල අරමුණු ආකාර හයකින් ඇසුරු කරල විඳගන්නවා කියන එකනෙ.

**දේශක** : හරි. බොහොම හොඳයි. ඒ ඒ අවස්ථාවලදි දැනගන්න සිතට විඤ්ඤාණය කියල කියනවා. ඒ කියන්නෙ ඇසෙන් නම් ඇසේ විඤ්ඤාණය, කනෙන් නම් කනේ විඤ්ඤාණය. අනිත් ඒවටත් ඔය විදිහටම ඒ ඒ නම්වලින් විඤ්ඤාණය කියල කියනවා.

**ශ්‍රාවක** : ඔව්, මට තේරුණා. ඒ ඒ ඉන්ද්‍රියන් ඒ ඒ රූප, ශබ්ද, ගන්ධ... දැනගන්න ස්වභාවයට තමයි විඤ්ඤාණයක් උපදිනව කියල කියන්නෙ.

**දේශක** : හරි. බුදු රජාණන් ☞

වහන්සේ මජ්ඣිම නිකායේ 3 වන කාණ්ඩයේ 591 වන පිටුවේ එන ඡ ඡක්ක සූත්‍රයෙන් පැහැදිලිව පෙන්වල දීල තියෙනවා, ඔය විදිහට විඤ්ඤාණ හැදෙන්නෙ කොහොමද කියල. අපේ ඇසට රූපයක් ස්පර්ශ වුණාම ඒක ගන්නෙ රාගයෙන්ද, ද්වේශයෙන්ද, මෝහයෙන්ද කියන ස්වභාව තුන අනුව චක්ඛු විඤ්ඤාණය උපදිනවා. රූපයයි, ඇසයි, උපදවාගත් චක්ඛු විඤ්ඤාණයයි කියන තුනේම සංගතියෙන් චක්ඛු සම්ඵස්සයක් හටගන්නවා. චක්ඛු සම්ඵස්සයෙන් චක්ඛු සම්ඵස්සජා වේදනාවක් ලෙස සුව දුනීම හෝ දුක දුනීම හෝ නොදුක් නොසුව දුනීම විඳගන්නවා. දුන් පැහැදිලි වුනාද?

**ශ්‍රාවක :** වැඩේ ටිකක් අමාරුයි වගේ. රූපයක් බැලුවම අපිට ඔය දුනෙන සැප විඳීම හෝ දුක විඳීම හෝ එහෙමත් නැත්නම් සැපත් නැති දුකත් නැති විඳීම හෝ ඇතිවෙන්නෙ, අපි රූපයත් එක්ක රාගයෙන් බැඳෙනවද, ද්වේශයෙන් බැඳෙනවද, මෝහයෙන් බැඳෙනවද කියන විදිහ අනුව නිසා, මමම ඔය විඳගැනීම් තුන හදා ගන්නව කියලයි මට ඔය පැහැදිලි කිරීම අනුව හැඟෙන්නෙ.

**දේශක :** ඔව්, අපි මුල් සාකච්ඡාවෙදිත් ඔය ගැන කතා කළා. මම කැමති ඒවා තමයි මට සුවය විදිහට දුනෙන්නෙ, මම අකමැති දේවල් තමයි දුක විදිහට දුනෙන්නෙ. ඡ ඡක්ක සූත්‍රයේ විස්තර කරල තියෙන්නෙ මෙන්න මේ විදිහට.

1. චක්ඛුංචකෝ භික්ඛවේ පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං

ඇස රූපය සමග බැඳෙන ආකාරය අනුව ඇසේ දුනීම උපදී.

2. තින්නං (චක්ඛු, රූප, චක්ඛු විඤ්ඤාණ) සංගති ඵස්සෝ

මේ තුනේ සංගතියෙන් ස්පර්ශය හට ගනී.

3. ඵස්ස පච්චයා උප්පජ්ඣති වේදයිතං සුඛංවා දුක්ඛංවා අදුක්ඛම සුඛංවා

ඒ ස්පර්ශය හේතුවෙන් සැප හෝ දුක හෝ සැපත් නැති දුකත් නැති හෝ දුනීම උපදී.

දුන්නම් ඔබට හොඳටම පැහැදිලි වෙන්න ඕන. ඔය වචනවලට එච්චර බය වෙන්න එපා. වචන කටපාඩම් කර ගන්න අවශ්‍ය නෑ. සරලව අදහස විතරක් තේරුම් ගන්න බලන්න.

**ශ්‍රාවක :** හරි දුන් මට තේරුණා. මට දුනගන්න තියෙන්නෙ, මේ ලෝකයේ මොන රූපයක් ඇසුරු කරල හරි ඔය කියන දුනීම් තුනෙන් එකක් ලැබෙනව නම්, ඒක මම හදාගත්ත එකක් මිසක් ඒ රූපයේ තිබුණු එකක් නෙවෙයි කියලනෙ?

**දේශක :** හරි, බොහොම හොඳයි. දුන් ඔබට තේරෙන්න ඕන, මිත්‍යා දෘෂ්ටි පහාන සූත්‍රයෙදි ඇසයි, රූපයයි, චක්ඛු විඤ්ඤාණයයි, චක්ඛු සම්ඵස්සයයි, චක්ඛු සම්ඵස්සයෙන් උපදින විඳීම් තුනයි අනිසි විදිහට දකින්න කියල දේශනා කරල තියෙන්නෙ ඇයි කියල.

**ශ්‍රාවක :** මගේ ඉන්ද්‍රිය හයෙන් මම මේ ලෝකය ඇසුරු කරල ලබාගන්න ඔය ආකාරයේ විඳගැනීම් නිසා ඒවාට ඇලිල ලෝභ වෙන එකයි, ඒවත් එක්ක ගැටිල ද්වේශ වෙන එකයි කිසිම තේරුමක් නැති බොරු හිස් වැඩක් කියල මම වටහ ගන්න ඕන නේද?

**දේශක :** ඔව්, ඔබේ දෘෂ්ටිය පහ වෙන්න පටන් ගන්නෙ ලෝකය ඇසුරු කරන විදිහ ඔය ආකාරයට අනිසි විදිහට දක්කට පස්සෙ තමයි. මේ ලෝකයේ අති බහුතරයක් මිනිස්සු ලෝකය ඇසුරු කරල විඳගන්න දුනීම් තුන හරි වටිනවා, හරි සාරයි කියල රැවටිලා තමයි හැමෝම උපන්දා පටන් මැරෙන කල්ම ඔය රූප පසු පස හඹාගෙන ගිහින් ඔය මුලා සැපය විඳගන්න දඟලන්නෙ. ඒ අය දන්නෙ නෑ, ඒ මුලා සැපය වෙනුවෙන් දස අකුසලයම ඒ අය අතින් සිද්ධ වන බව. ඒ අය තමන්ටයි තමන්ගෙ අයයි වෙනුවෙන් ඔය දස අකුසලයම කරල අපරාදෙ අපාගත වෙනවා.

**ශ්‍රාවක :** ඔහොම බැලුවොත් ඉතින් මට ගෙදර අයට ජීවත් වෙන්න ආදායම උපද්දවල දෙන එකෙනුත් අයින් වෙන්න වෙනවා. මට ගැලවෙන්න නම් මේ ඔක්කොම නවත්වන්න ඕනමද?

**දේශක :** මේ දහම වැරදියට තේරුම් ගත්ත අයට එහෙම හිතෙනවා. ඕක බුදු හාමුදුරුවො උපමාවකින් පෙන්වා දීල තියෙනවා, සර්පයා වලිගයෙන් අල්ල ගත්ත වගේ කියල. සර්පයෙක්ව ඉතින් වලිගයෙන් අල්ල ගත්තොත් ඌ අනිවාර්යෙන්ම දෂ්ට කරනවනෙ.

**ශ්‍රාවක :** ඔය කියන්නෙ මමත් සර්පයා වලිගයෙන් අල්ල ගෙන කියන එකද?

**දේශක :** ඔව් ඉතින් ඔක්කොම වැඩ නවත්වන්න ඕන කියන්නෙ ඒකනේ. මජ්ඣිම නිකායේ පළමු කාණ්ඩයේ එන අලගද්දූපම සූත්‍රයේ තමයි ධර්මය සර්පයෙකුට උපමා කරල තියෙන්නෙ. දහම වැරදි විදිහට ගත්තොත් තමන්ට ඒකෙන් හානියක් වෙනවා. සර්පයා අල්ලන කොට ඔළුවෙන් අල්ලන්න ඕන වගේ, ධර්මයත් නිවැරදි තැනින් අල්ල ගන්න ඕන. මේ දහම් මාර්ගය අනුගමනය කරන්න ඔබේ ආදායම් මාර්ග නවත්වන්න අවශ්‍යතාවයක් නෑ. ඒවා කරගෙන යන ගමන් මේ දහම් මාර්ගයේ ගොඩක් දුර යන්න පුළුවන්. මුලින්ම උත්සාහ කරන්න ඕන මේ දහම නිවැරදිව දුකගන්න. ඊට පස්සෙ මග වඩාගෙන යන්න අනුපූර්ව ප්‍රතිපදාවක් තියෙනවා.

**ශ්‍රාවක :** මට තේරෙන්නෙ නෑ, කොතනද මට වැරදුනේ කියල. හැබැයි අද කතා කරපු ගොඩක් කරුණු මට හොඳින් වැටහුණා.

**දේශක :** අද ගොඩක් ගැඹුරු දහම් කරුණු කතා කරපු නිසා දුන් නැවැත්තුවොත් හොඳයි වගේ. ආයෙත් දවසක අපි කතා කරමු, වරද්ද ගන්නෙ නැතුව නිවැරදිව දහම් මග අනුගමනය කරන්නෙ කොහොමද කියල.

**සටහන**

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන - 071 2736623**

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දුනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දුනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

**අභයරතනාලංකාරය - 60**

# ගිහි ගෙදරදී විඳි දුක් ගිනි... (V)



**- වහරක අභයරතනාලංකාර හිමි**

තමන්ට ලැබිච්ච හොඳ නරක දෙකම කිසිම සැඟවීමකින් තොරව අන් අයගේ යහපත පිණිසත්, ලෝකයේ යථා ස්වභාවය අවබෝධ කර ගැනීම පිණිසත් හෙළිදරව් කරන වහරක අභයරතනාලංකාර හිමියන්, තමන් වහන්සේ ගිහි වතක සිටියදී මුහුණ දුන් දුක් ගිනි අතරින් තවත් කොටසක් මේ විදිහට හෙළිදරව් කළා.

හැබැයි මේ හෙළිදරව් කිරීම් මගින්, උන් වහන්සේ ඒ කටයුතු කරපු සමහර ප්‍රදේශවල සමහර උදවිය උන් වහන්සේට කරපු අවැඩ ගැන, ඒ ගම් ප්‍රදේශවල ජීවත් වන අය දැනගන්න පුළුවන් නිසාත්, ඒ හේතුවෙන් ඒ අයගෙ දූනට ජීවත් වන පරම්පරාවල උදවියට යම්කිසි හිත් රිදීමක් එන්න පුළුවන් නිසාත් ඒ ප්‍රදේශවල නම් ගම් සඳහන් කරන්නෙ නෑ. ඒ අය ගැන අනුකම්පාවෙන්මයි උන් වහන්සේ ඒ නම් ගම් සඳහන් නොකරන ලෙස ඉල්ලා සිටියෙ.

මම ලබා ගත් අධ්‍යාත්මික ශක්තිය උපයෝගී කරගෙන, දුක් කරදරවලට ලක් වෙච්ච විවිධ පිරිස්වලට සෙත් ශාන්තිවලින් ප්‍රතිකාර කිරීමේ කටයුතුවලට ගෙදර අය සහ වටේ හිටපු ඥාතීන් අකමැත්ත පල කළ නිසා, මම ඒ කටයුතු අත්හැරල නැවතත් යන්ත්‍ර ක්‍රියාකරවන්නෙක් විදිහට පිට අයගෙ වැඩට ගියා. ඒත් ඒකත් හරි ගියේ නැති නිසා මම ඒ ඔක්කොම වැඩ නවත්වල දාල ටික දවසක් බලාගෙන හිටියා. ඔය වෙලාවෙ අපේ බිරිඳගෙ මහ ගෙදරටත් කරල තිබිච්ච මොකක් හරි කොඩිවිනයක් හාමුදුරු නමකගෙ මාර්ගයෙන් කපන අවස්ථාවක් ගැන ආරංචි වුනා. මමත් ඒ වෙලාවෙ එහේ හිටියෙ. මම ඉතින් ඒක කැපෙන හැටි සමාධියෙන් බලාගෙන හිටියා. ඒක කැපිල ගිය හැටි මට හොඳට පෙනුනා. ඒ හාමුදුරුවො වත්ත වටේට නූලක් ඇදල ඒකෙ දෙපොට පොල් තෙල් බෝතලයක ගිල්වපු ඉරටු කැලි දෙකක ගැට ගහල, ඒ පොටවල් දෙකෙන් එකක් ඇදල අරගෙන තොලබෝ කොළයකට අමුණල බිත්තියේ ගැහුවා. අනෙක් පොට අතට අරගෙන පිරිතකින් ජීවම් කරන්න ගත්තා. ඔහොම පිරිත් කරනකොට අර බන්ධනය ඩාං ගාල පුපුරල ගියා. ඒ සද්දෙ සමාධියට හොඳට ඇහුනා. ඉතින් වැඩේ හරි ගියා. මම ඔය කතාව ඒ හාමුදුරුවො එක්ක කිව්වට පස්සෙ, එහෙම දේවල් පේනවනම් ඉතිං හොඳයිනෙ අපි මේ විදිහට කරමු කියල ඒ වැඩ කටයුතුවලට සම්බන්ධ වෙන්න කියලත් මට කතා කළා.

ඉතින් මමත් කල්පනා කළා, දැන් මේ අපේ ගෙදර අය එක්කයි ඥාතීන් එක්කයිනෙ මේ වගේ වැඩ කරන්න බැරි, නමුත් ගමෙන් පිට මේ වගේ තැනක ඒ කටයුතු කරන්න පුළුවන්නෙ කියල. එහෙම හිතල ඒ ගැන බලාපොරොත්තු ඇති කරගත්තා. ඔය අතර පූගොඩ පැත්තෙ මම දන්න අඳුනන කඩ තියෙන නිසා, දවසක් මම ඒ පැත්තට නිකං ගිහින් එන්න ගියා. එහේ හිටපු දන්න අඳුනන කෙනෙක් මට කිව්වා, ඔයා වගේම සමාධියෙන් බලන්න පුළුවන් බෝසත්වරයෙක් වගේ තවත් වයසක මහත්තයෙක් අහවල් ප්‍රදේශයේ ඉන්නව කියල. මම කිව්ව ඉතිං මම වගේ කෙනෙක් ඉන්නවනම් දැකගන්න හරි ආසයි කියල. අපි යමුකො දවසක කියල මම ඒ මහත්තයත් එක්ක දවසක් බලන්න ගියා. බලනකොට ඒ පැත්තෙ වෙද මහත්තයෙක්. මම ඉතින් එදා රෑ එහේ නැවතිලා ඉඳල නොයෙක් සාකච්ඡා කළා. ඊට පස්සෙ ඉතින් ඒ වෙද මහත්තය කිව්වා, මටත් දැන් වයසයිනෙ නිකං ඉන්නවනම් මෙහේ ඇවිදින් යන්න මොනවහරි පුළුවන් දෙයක් කරමු කියල. ඒ නිසා අර හාමුදුරුවොත් එක්ක කටයුතු කරන්න අවස්ථාවක් ලැබුණෙ නෑ.

ඔහොම ඉඳල තමයි දවසක් ඒ පැත්තෙ කෙනෙක්, ගෙදර පහනක් තියන්න යන්ත්‍රයක් ජීවම් කරන්න කියල මට බාර දුන්නෙ. ඉතින් ඕව අපේ ගෙදර කරන්න බැරි නිසා, ඒකට සුදුසු ප්‍රදේශයත් මෙහේ කියල හිතල, මමත් හා හොඳයි කියල සියල්ල ලෑස්ති කරල දුන්නා. ඒ පටන් ගත්තු එකෙන් තමයි මම දන්න කියන අය හරහා කෙළවරක් නැතිව විවිධ අයගෙන් ඒ වගේ වැඩ එන්න පටන් ගත්තෙ. ඔහොම දෙක තුනක් කරනකොට ඒවායින් ලැබිච්ච මුදල්වලින් කොටසක් ඒ වෙද මහත්තයටත් දුන්නා. මොකද ඔහුගෙ ස්ථානයේ ඉඳගෙන තමයි මම ඒ වැඩ කටයුතු කළේ. අන්තිමට වෙද මහත්තය කිව්වා, ලැබෙන ආදායමෙන් 40% ක් ඔහුට දෙන්න, ඉතිරි 60% මට ගන්න කියල. ඒ ක්‍රමයට අවුරුදු 7 ක් විතර කරගෙන ගියා. ඊට පස්සෙ ඒ වැඩ කටයුතුවලට කාගෙන්වත් ප්‍රශ්නයක් ආවෙ නෑ. මොකද කලින් වගේ ගෙදරට සම්බන්ධ නැති නිසා. දැන් කවුරුවත් දන්නෙ නෑ මම මොනව කරනවද, කොහේ ඉන්නවද කියල. ගෙදර අයගෙ සුව දුක් බලන්න සතියකට දවසක්

ගිහින් එනවා. අම්මත් නංගිලගෙ ගෙදර ගිහින් හිටපු නිසා රණ්ඩු සරුවල් ටිකක් අඩු වෙලා තිබුණෙ. ඒ නිසා මටත් යන්න එන්න පුළුවන්කම තිබුණා. ඒ කාලෙ ඉතින් ඥාතීන් කවුරුවත් මාත් එක්ක සම්බන්ධ වුනේ නෑ.

ඔහොම කාලයක් ඉඳල ඒකත් නැවතිලා ගියා. මොකද ඒ වෙද මහත්තය මේ කටයුතුවලින් ලැබීම් එනව කියල දැන ගත්තම, ඔහු එතැන මුල් තැන අර ගෙන උසස් තත්ත්වයේ කෙනෙක් හැටියට සලකල, මම නිකං සේවකයෙක් හැටියට තියාගෙන තමයි කටයුතු කරන්න බලාපොරොත්තු වුණේ. ඒක ඔහුට ලැබිච්ච ඒ මුදල් නිසා ඇති වෙච්ච මාන්නයක්. ඒකෙන් ඔහුගෙ තිබිච්ච අර මුල් ගති ලක්ෂණ යටපත් වෙලා ගියා. එතනදි තමයි ඔහුට වැරදුණේ. මම කිව්ව ඉතින්, වෙද මහත්තයට ඕන එකක් කරගන්න පුළුවන්නෙ මට කිසි ප්‍රශ්නයක් නෑ එහෙම කර ගන්න, මටත් තනියෙන් ඕන වෙදකමක් කරගන්න පුළුවන් කියල. පස්සෙ ඉතින් මම ඒ ගෙදර හිටපු ඔහුගෙ ළමයෙක් එක්ක කිව්වා, මේව දිගටම කර කර ඉඳල වැඩක් නෑ ටික කාලෙකට විදේසගත වෙන්න මගේ බලාපොරොත්තුවක් තියෙනව කියල. නමුත් මම එහෙම කිව්වෙ නිකං සම්‍යක්ප්‍රයෝගයක් විදිහට මිසක් ඇත්තටම එහෙම බලාපොරොත්තු-වකින් නෙවෙයි. මොකද මම එතනින් වෙන් වෙලා තනියම වැඩ කරන්න යනව කියල දැන ගත්තොත් ඔහු කවදාවත් එහෙම යන්න ඉඩ දෙන්නෙ නෑ. එහෙම ගියොත් ඒ ලැබීම් සියල්ලම කඩාකප්පල් වෙනව කියල ඔහු දැනගෙන හිටියා.

කොහොම හරි මේ ළමය ඒක වෙද මහත්තය (තාත්ත) එක්ක කියල තිබුණා. ඊට පස්සෙ ඉතින් ඒ අය මොකද කළේ, ඒ තරහට මම කන බොන දේකට පංචපාසානම් දාල දුන්නා. මොකද ඔහු මට දවසක් කියල තිබුණා, අවශ්‍ය නම් අහු නොවෙන්න කෙනෙක් මැරෙන්න දෙන්න බෙහෙතක් තියෙනව කියල. ඒක පංචපාසානම් කියල, ඒකට ගන්න විස වර්ග පහත් ඔහු එක දිගටම කියාගෙන ගියා. ඒ පහ අරගෙන තමයි ඔහු මට වස දුන්නෙ. මේ බෝසත්වරයෙක් වගේ කියල හිටපු මනුස්සයෙක් කරපු දේ. මිනිස්සුන්ට කියන්නෙ එකක්, කරන්නෙ තව එකක්. හැබැයි ඒ වෙද මහත්තය මරණාසන්න අවස්ථාවෙදි යම ලෝකෙටත් සම්බන්ධ වෙලා අන්තිමට මනුස්ස භවයෙන් චුත වෙලා මහා ගිනි අපායකට ඇදගෙන ගියේ. ඒ කාරණයත් ඒ කාලෙ මම සමාධියෙන්ම දැක්කා. (මේ පිළිබඳ පූර්ණ විස්තරයක් හෙළ බොදු පියුම 14 වන කලාපයේ "අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්" ලිපි පෙළ යටතේ ඉදිරිපත් කරල තියෙනවා).

ඉතින් මම එතැනින් යන්න පෙර ඒ වස මට දීල තිබුණෙ. දුන්නට පස්සෙ ඒක හොයන්න බෑ. තනිකරම උගුර කට වේලිලා ගියා. මට ඒක දැනුනෙ දෑඩි වතුර තිබහක් ආපු නිසා. පස්සෙ අධික කැස්සක් හැදුණා. ඇඟ පතේ කැක්කුමත් ආවා. ඒක අඩු වුණේම නෑ. ඒකෙන් මාස පහ හයක් යන කල්ම දුක් වින්දා. ඊළඟට කකුල් හිරි වැටුණා. කකුල් තද වෙලා තුනටියත් එක්ක සියල්ලම හිර වුණා. ඊළඟට නැගිට ගන්නත් බැරිව ගියා. වාහනයක කකුල් දෙක තියාගෙන එක විදිහට ගියොත් එහෙම හදිසියේ නැගිට ගන්න බෑ. යතුරු පැදියක ගියොත් එක පාරටම බහින්න බෑ. කකුල් දෙක දෙපැත්තට හිර වෙලා හිටිනවා. අන්තිමට ශරීරය ඉරට්ටක් වගේ වුණා. ඇගේ මස් ඔක්කොම දිය වෙලා ගියා. අන්තිමට විස ශරීරයට උරාගෙන ඒකෙන්ම දියවැඩියාවත් හැදුණා. පසු කාලෙක ඒක වකුගඩු නරක් වෙන්නත් බලපෑවා.

ඒක ඉතින් දරුණු විසක්. මැරෙන්න, විනාස වෙන්නමයි දුන්නෙ. නමුත් එක සැරේ මැරෙන්නෙ නෑ. ඔය විදිහට විඳවල තමයි මැරෙන්නෙ. වෙන කෙනෙකුට දුන්න නම් මැරෙනවා. මගේ තිබිච්ච මොනව හරි සසර පුණ්‍ය ශක්තියක් නිසා දැඩි දුක් වේදනා විඳල ජීවිතය බේරුණා. නැත්නම් බේරෙන්න එහෙම ලේසි නෑ. දූත් ඉතින් මම මේක දැන ගත්තට පස්සෙ කරන්න දෙයක් නෑ. ඒ වෙලාවෙ දැන ගත්තට මම ඒක ගණන් ගත්තෙත් නෑ. අන්තිමට මොනව කරන්නද කියල හිතා ගන්න බැරිව ගියා. පස්සෙ වෛද්‍යවරුන්ගෙන් කැස්සට බෙහෙත් බිව්වා. මාස හයක් විතර යනකොට ඒක ටිකෙන් ටික අඩු වෙලා ගියා. අනෙක් ඒවාට මමම පොඩි පොඩි බේත්වලින් ප්‍රතිකාර කර ගත්තා. ඒ අතර ඉතින් විවිධ කරදර ප්‍රශ්නවලට මාව මුණ ගැහෙන්න සෙනගත් කෙළවරක් නැතිව එනවා. නමුත් ඒ වෙනකොට මට ඒව කරන්න පුළුවන් මට්ටමක් තිබුණෙ නෑ. මොකද කතා කරගන්නත් බැරිව ගියා. වචන තුන හතරක් කතා කරන කොට කැස්ස ඇවිත් හිර වෙනවා. ඉතින් ඒ කාලෙ ජීවත් වෙන්න මුකුත්ම ආදායමක් තිබුණෙත් නෑ. බොහොම අමාරුවෙන් තමයි ජීවත් වුණේ. කර ගන්න පුළුවන් කිසිම දෙයක් තිබුණෙ නෑ. සාමාන්‍ය විදිහට වැඩ කටයුතු කරගන්න පුළුවන් මට්ටමට එන්න මාස හයක් විතර ගියා. ඊට පස්සෙ තමයි ටිකක් හරි තමන්ගෙ වැඩ කටයුතු කර ගන්න පුළුවන් වුණේ.

ඊට පස්සෙ තවත් ප්‍රදේශයක අවුරුදු 4-5 ක් සෙත් ශාන්ති කටයුතු කරගෙන හිටියා. අන්තිමට ඒ ස්ථානය හිමි අයගෙ යම් යම් ප්‍රශ්ණ නිසා එතනත් අත්හැරල දාල ගියා. ඒ ස්ථානයෙදිත් ඔය වගේ ප්‍රශ්නයක්මයි ආවෙ. ඒ ස්ථානය හිමි පුද්ගලයා පළවෙනිය වෙන්න දඟලුවා. නමුත් එහෙම වෙන්න බැරි වෙච්ච එකේ හිතේ අමාරුව තමයි ඔහුට තිබුණෙ. ඔහු එතැන ඉන්න අනෙක් පිරිසට බොහොම පහත් විදිහට කතා කරල තමන්ගෙ ලොකුකම් පෙන්වන්න හැදුවා. අපේ ශක්තිය අරගෙන ඔහු ලොක්ක වෙලා අනෙක් මිනිස්සුන්ට බනින්න දොස් කියන්න ගත්තා. උඹ වරෙන්... පලයන්... අරක කරපන්... මේක කරපන්... ඔය ජාතියේ නියෝග පනවන්න ගත්තා. නමුත් මාත් එක්ක ඒව කරන්න බැරිව ගියා. මම කිව්ව ඉතින් ඔය ජාතියේ සෙල්ලම් කරන්න ලෑස්ති වෙන්න එපා, ඕවා සාසන වැඩවලට ගැලපෙන්නෙ නෑ කියල. එහෙම කියල ඒ ගැන ඔහුට දොස් කිව්වා. ඒකෙ තරහ තමයි මාත් එක්ක ඇති කර ගත්තෙ. පස්සෙ ඉතින් කිහිප වතාවක්ම වචන හුවමාරු වෙලා, බැරි තැන මම ඒ ස්ථානය අතහැරල යන්න කලින් දවසෙ මේ මනුස්සයා මට කෑමට දාල දියමන්ති කුඩු දුන්නා. හැබැයි මම ඒක කෑවෙ නෑ. මොකද මට සැකයක් ඇති වුණා මෙහෙම විසක් දාල ඇති කියල. කඩල තම්බල තෙම්පරාදු කරල ඒකට තමයි විස දාල දුන්නෙ.

මම ඉතින්, ඕන දෙයක් වෙච්චාවෙ කියල දුන්න නිසා කනව කියල එක කඩල ඇටයක් සැකේට හැපුවා. එතකොට චර චර ගාල හැපුණෙ. මම දැන ගත්තා මේකෙ ඒකාන්තයෙන්ම මොනව හරි විසක් තියෙනව කියල. පස්සෙ මම අනෙක් කඩල ටික සියල්ලම වතුරට දාල හෝදල ඒ කඩල ඇට ටික අයින් කළා. බලන කොට අඩිය යට සුදු වැල්ලක් වගේ දෙයක් ඉතිරි වුණා. තේ හැන්දක් විතර ඇති. මම ඒ ටික ප්‍රවේසමෙන් අරගෙන, මොනවද කියල බලා ගන්න පරීක්ෂණයකට යැව්වා. ඒ අය ඒක එක්තරා බණිජ වර්ගයක් කියල හඳුන ගෙන තිබුණා. ඉතින් දියමන්ති කියන්නෙත් බණිජ වර්ගයක් තමයි. හැබැයි ඒ අයට ඒක විසක් කියල කියන්න බෑ. මොකද ආහාරවලට දාල දීපු වගක් ඒ අය දන්නෙ නෑ. නමුත් දියමන්ති කුඩු කියන්නෙ අධික විස. කෙනෙකුට කැවුණොත් එහෙම ඉතිරි වෙන්නෙ නෑ. ශරීරය විනාස වෙනවා. ඉතින් මම ඒ ස්ථානය අතහැරල දාල යනකොට ඒ අයට තිබිච්ච තැන නැති වෙයි කියන බයට, මාත් එක්ක තිබිච්ච ඉරිසියාවට තමයි ඒ වගේ දෙයක් කළේ.

ඔහොම ඉඳල, අර සිද්ධිය වෙලා අවුරුදු දහ තුනකට පස්සෙ ඔහු මාව හමු වෙන්න ආවා. එතකොට මම මහණ වෙලා හිටියෙ. හාමුදුරුවනේ මම මේ අවුරුදු දහ තුනකට පස්සෙ ආවෙ කියල ඔහුට ආශිර්වාද කරන්න කිව්වා. ඒ කියන්නෙ ඔහුට කිසි දියුණුවක්, වගතුවක් නැති නිසා ඒ සඳහා ආශිර්වාද කරන්න කියලයි ඉල්ලුවෙ. නමුත් ඉතින් ආශිර්වාද කළාට වැඩක් නෑ. මොකද ඔහු විසින් දරුණු පාප කර්ම කරගෙන තිබුණෙ. ඒත් ඉතින් හොයාගෙන ආව නිසා මම පුළුවන් තරම් ආශිර්වාද කළා. **මොකද බෞද්ධයො විදිහට අපි කාත් එක්කවත් තරහක් හිතේ තියා ගන්නෙ නෑ. කවුරු ඉල්ලුවත් කරන්න පුළුවන් ආශිර්වාදයක් තියේනම් කරනවා. මොකද මේ සසර ගමන යන කොට අපේ පරම හතුරො කියල ජාතියක් නෑ. හැමෝම අසරණයි. මිනිස්සු නොදැනුවත්කමින් ලෝකය බොහොම වටිනව කියල හිතාගෙන ''මම'' කරගන්න, ''මගේ'' කර ගන්න නොයෙක් දුශ්චරිත, පාප කර්ම කරනවා. අන්තිමට ඒවායේ විපාක එනකොට අන්ත අසරණ වෙනවා.** ඉතින් මගෙත් තියෙන මොනව හරි කර්ම වේගවලට ඒ අයගෙ හිංගි හිංසාවලට ලක් වෙන්න සිද්ධ වුණා. නමුත් එහෙම වුණයි කියල මේ දහම දැන ගත්තම අපිට ඒ අයව කපල දාන්නත් බෑ. **මේ සසරෙ තියෙන භයානකත්වය තේරුම් ගත්තම, ලොව්තුරා බුදුන් වහන්සේ පෙන්වා දීපු ධර්ම මාර්ගයේ ගිහින් ඒ ක්‍රමය අනුගමනය කරල නිදහස් වෙනව හැර වෙන විකල්ප නෑ.**

ඒ වගේම මීට පෙර, මගේ මව නරක ස්ථානයක ඉපදිච්ච බවත්, තවත්



සෙත් ශාන්තියක් කරන අවස්ථාවක්.

අවස්ථාවක යම් කිසි දේව අසුර වගේ ස්ථානයක ඉන්න බවත් සඳහන් කරල තිබුණා. ඒ කාරණය සමහර අයට පරස්පරතාවයක් තියෙන බවක් පෙනී ගිහින් තියෙනවා. එතනදි ඉතින් මට මුලින්ම දර්ශනය වෙච්ච දේ තමයි මම කිව්වෙ. ඒ කියන්නෙ මරණාසන්න අවස්ථාවෙදි අම්මගෙ ගතිය විදිහට පිහිටියේ යම්කිසි සුගති ස්ථානයකට යන්න. නමුත් උපත සිද්ධ වෙන කොට ඒ අදහස් වෙනස් වෙලා මුල් ගතිය පිහිටල නෑ. මම ඉතින් ඕක නිතර නිතර හොයල බැලුවෙත් නෑ. එහෙම හැම තිස්සෙම බලන්න අවශ්‍යතාවයක් තිබුණෙත් නෑ. මම අනෙක් අයටත් කියල තිබුණෙ, කෙනෙක් මළාට පස්සෙ බල බලා ඉන්න එපා තමන්ගෙ කටයුතු ටික කරගෙන ඉන්න කියල. මොකද හොය හොයා බලන්න ගියොත් ඒ මියගිය ඥාතීන්ගෙන් කරදර එන්න පුළුවන්. ඒ අයගෙ බැල්ම වැටෙන්න පුළුවන්. එතකොට කරන කියන කටයුතුවලට බාධයි. ඒ අය ජීවත් වෙලා ඉන්න කාලෙ යහපතක් කරල දීල, මිය පරලොව ගියාට පස්සෙ දාන මාන දීල පින් පෙත් අනුමෝදන් කරනව හැර නැවතත් සම්බන්ධකම් පවත්වන්න ගියොත් කරදර එන්න පුළුවන්.

ඒ නිසා හැමතිස්සෙම ධර්මය ගුරුවරයා කරගෙන කටයුතු කරන්න ඕන. මමත් ඉතින් ඒකම තමයි අනුගමනය කළේ. කෙනෙක් මළාට පස්සෙ කවුරු හරි ඇහුවොත්, එක වතාවක් බලල නිකං ඉන්නව මිසක් උප්පත්තිය කොහෙද කියල නැවත නැවත හොයල බලන්න ගියේ නෑ. විශේෂ අවශ්‍යතාවයක් තිබුණොත් විතරයි නැවත බැලුවෙ. ඉතින් යම්කිසි කාලයක් යනකොට ඒ උප්පත්ති ස්ථානය වෙනස් වෙන්න පුළුවන්. මොකද කරපු කියපු පින් දහම් කටයුතුත් තියෙන නිසා ඒවත් ඇදල එන්න පුළුවන්. අනෙක ඒ දෙවෙනි අවස්ථාවෙ සඳහන් කරපු විදිහට, යන්න එන්න පුළුවන්, ඇඳුම් සහිත අසුර ලෝකයක් කියල කිව්වත් ඒකත් හොඳ තැනක් නෙවෙයි. පහත් තැන්වලට වඩා යම්කිසි ආකාරයක සම්පත්තියක් තිබුණත්, දැඩි ගති තියෙන ඇලෙන ගැටෙන තැනක්. ඒ නිසා අවස්ථානුකූලව ඒ උපන්න ස්ථානයේ ස්වභාවය මට දැනෙන හැටියට විස්තර කළා මිසක් මේ එකක්වත් ඒකාකාරීව පවතින්නෙ නෑ. ඒ නිසා මම ඒ ගැන නිතර නිතර යොමු කරල බලන්න ගියෙත් නෑ. දෙවෙනි වතාවට යම් කිසි ආකාරයකට අහම්බෙන් යොමු වෙන කොටයි මෙහෙම තැනක් කියල දැන ගත්තෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# භෞතිකවාදීන්ගේ අවිද්‍යාව හෙවත් විද්‍යාවේ අවිද්‍යාව.....



මේ ලිපිය ලියන්න මූලික හේතුව, අද පවතින ජෝතිෂය, වාස්තු විද්‍යාව ආදී ලෝකායත (ලෝකයේ ස්ථාන පිළිබඳ දැනීම හදන) විද්‍යාවන්ට තැනක් දෙන්න හෝ හේතුවාදීන් හෙවත් භෞතිකවාදීන් කියල කියන පිරිසට පහර ගහන්න හෝ නෙවෙයි. හුදෙක්ම නූතන ජනසමාජය මිත්‍යා දෘෂ්ටියෙන් ගලවගෙන කර්මඵල අදහන පිරිසක් බවට පත් කරන, කවදාවත් වෙනස් නොවන, එදත් අදත් හෙටත් එක සේ ගලපන්න පුළුවන් විද්‍යාව පෙන්වා දීල ලෞකික සම්මා දිට්ඨියේ පිහිට වීමේ අදහසින්.

මොකද අද වෙන කොට සමාජයේ බොහෝ පිරිසක් ඇහැට-රූප, කනට-ශබ්ද, නාසයට-ගඳ සුවඳ, දිවට-රස, ශරීරයට-ස්පර්ශ කියන මේ පංචේන්ද්‍රිය ගෝචර දේවල් මත පමණක් පදනම් වෙලා තීරණ අරගෙන මං මුලා වෙලා සසරේ අතරමං වෙලා අනාත වෙලා ඉන්නවා. හැබැයි එහෙම අනාත වෙලා ඉන්නවයි කියන කාරණය ඒ අය නම් පිළිගන්නෙ නෑ. මොකද ඒ අයගෙ දෘෂ්ටිය නිසා මේ කියන අනාත බව ඒ අයට ගෝචර වෙන්නෙත් නෑ. ඒ නිසා මේ උත්සාහය, ඒ අනාත තතත්වයෙන් මිදිල නා තත්වයට පත්වෙන්න මග පෙන්වූ ලොව්තුරා බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන් දහම හැකි අයුරින් සනාථ කිරීම. ඒ නිසා මෙතනදි මූලිකවම ඉහත කී ඇස, කන... ආදී පංචේන්ද්‍රියන්ගෙන් ඔබ්බට ගිහින් මනස ගැනත් හිතන්න බලන්න වෙනවා. ඉතින් මේ පිළිබඳව යම් යම් කරුණු කාරණා මීට පෙරත් මේ සඟරාවෙ සමහර ලිපිවලින් ඉදිරිපත් කරල තියෙනවා. නමුත් ඒ සියල්ල කැටි කරල, සමහර භෞතිකවාදීන්ගෙ මත මොන තරම් අවිද්‍යා සහගතද කියන කාරණය පෙන්වන්න ඉදිරිපත් කෙරෙන ලිපි පෙළක් තමයි මේ.

"ගස් ගල්වලට, මැටි පිළිමවලට වඳින්නෙ පුදන්නෙ මෝඩයො, ගෝත්‍රිකයො! මැටි පිළිම බත් කනවද? අපරාදෙ මෙච්චර මිනිස්සු කන්න නැතිව දුක් විඳිද්දි පූජාවලට කියල ආහාර නිකං විසි කරනවා. හාමුදුරුවන්ට දානය දුන්නයි කියල වැඩක් නෑ, ඒ අය රටට ලෝකයට කරන දෙයක් නෑ. ඒ අයට ඕන තරම් කන්න බොන්න ලැබෙනවා. අර අව්වෙ කලු ගල් කඩ කඩා කුලී වැඩ කරන මිනිස්සුන්ට කන්න වේලක් දුන්න නම් ඔයිට වඩා හොඳයි, ඒ අය මොනව හරි කරනවා... ඒක්කො කන්න නැති හිඟන්නන්ට දෙන්න ඕන... දෙවියො කියල කොටසක් නෑ, අපායක් කියල වෙනම තැනක් නෑ. ඕව ඔක්කොම තියෙන්නෙ මේ මිහිපිට. මැරුණට පස්සෙ ඔක්කොම ඉවරයි, නැවත ඉපදීමක් කියල දෙයක් නෑ. ඒ නිසා හොඳට කාල බීල මැරෙන්න ඕන. පිං කරනව කියල දෙයක් නෑ. ලෝකෙ හැමෝටම මනුස්සයො වශයෙන් සම්පත් සමානව ලැබෙන්න ඕන. දුක්පත් පොහොසත් කියල බේදයක් තියෙන්න බෑ. කේන්දර සාස්තර, වාස්තු බලනව කියන්නෙ මෝඩ වැඩ, ඒවායේ කිසිම සත්‍යයක් නෑ. පිරිත්වලින් ලෙඩ සනීප කරන්න බෑ, රටක් දියුණු කරන්න බෑ."

අද සමාජවාදය, කොමියුනිස්ට්-වාදය, භෞතිකවාදය කරපින්නගෙන ඉන්න සමහර අයගෙන් පිටවන අදහස් කිහිපයක් තමයි මේ. මේ අදහස් අතර දසවස්තුක මිත්‍යා දෘෂ්ටියට අයිති අදහසුත් තියෙනවා. මේ වගේ අය සමහරවිට විවිධ දේශපාලන පක්ෂ, සංවිධාන විදිහට පෙනී ඉන්නත් පුළුවන්. දැන් ඉතින් මේ අය කියන මේ කාරණා ඇත්තද කියල එකින් එක විද්‍යානුකූලව විමසුම් ඇසින් බලන්න ඕන.

අද මේ භෞතිකවාදීන් කියන අය බොහෝ කොටම නවීන විද්‍යාව මත පදනම් වෙලා තමයි ඒ අයගෙ මත ඉදිරිපත් කරන්නෙ. අද නවීන විද්‍යාව තීරණ ගන්නෙ පරීක්ෂණ, නිරීක්ෂණ හා නිගමන මගින්. ඒ සඳහා පාදක කර ගන්නෙ ඇස, කන, නාසය, දිව, ශරීරය කියන පංචේන්ද්‍රියන්ට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන දේවල් සහ ඒ පංචේන්ද්‍රියන් උපයෝගී කරගෙන ගොඩනගා ගත් උපකරණ. නමුත් අද නවීන

විද්‍යාව පරීක්ෂණ කරල යමක් හොයා ගන්න උත්සාහ කරන්නෙත්, ලෝකයේ තියෙන සියල්ල පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන නිසා. ඒක තමයි පංචේන්ද්‍රියන්ගෙ තියෙන අඩුව, දෝසය. ඒ දෝසය මග හරවා ගන්න පරීක්ෂණ කරනවා. ඒකෙන් පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන යම් යම් දේවල් අහුවුණත් ඒ පරීක්ෂණ, නිරීක්ෂණ සහ නිගමන සිදුකරන්නෙත් මේ දෝස සහිත වූ පංචේන්ද්‍රියන්ගෙන්මයි.

තවත් විදිහකට කිව්වොත්, දෝස සහිත දේවල්වල දෝස තියේද කියල සනාථ කරගන්න, දෝස සහගත දේවල්වලින්ම සකස් කරපු උපකරණ භාවිතා කරල දෝස සහිත ඉන්ද්‍රියන්ගෙන්ම නිගමනය කරනවා. ඒ නිසා මේක කොච්චර දුරට විද්‍යාවක්ද අවිද්‍යාවක්ද කියන කාරණය හිතල බලන්න. සැබෑ විද්‍යාවක් නම් ඒකෙ දෝස තියෙන්න බෑ. හැමැදාටම එක සේ ගැළපෙන්න ඕන. නමුත් අද නවීන විද්‍යාව, ඊයෙ එකක් කියල අද තව එකක් කියනවා. හෙට තවත් එකක් කියනවා. උදාහරණයක් විදිහට මුල් කාලෙ පරමාණුව බිඳින්න බෑ කිව්වා. නමුත් තවත් කාලයක් පරීක්ෂණ කරන කොට පරමාණුවත් බිඳින්න පුළුවන් කියල හොයා ගත්තා.

සාමාන්‍ය ජනයාට වඩාත් සමීප උදාහරණයක් ගත්තොත්, **පොල් තෙල්වල කොලෙස්ටරෝල් තියෙනව කියල නවීන සම්මත විද්‍යාවෙන් කියපු නිසා මිනිස්සු බොහොමයක් එළවළු තෙල් භාවිතයට පෙළඹුණා. නමුත් වසර ගණනාවක් ගිය තැන, අද නැවත කියනවා පොල් තෙල්වලින් නෙවෙයි, එළවළු තෙල්වලින් තමයි කොලෙස්ටරෝල් ඇතිවෙන්නෙ කියල.** ඒ වගේම එදා ඒ විද්‍යා කියමන අහල එළවළු තෙල් කෑමෙන් කොලෙස්ටරෝල් රෝගය හදා ගත් අයටා, ඔය මත ඉදිරිපත් කරන අය දැන් මොනවද කියන්නෙ? ඒකෙන් ඇති වෙන්නෙ කොලෙස්ටරෝල් විතරක්ද?

කොලෙස්ටරෝල් ඇතිවීම මගින් නහර අවහිර වෙන්නත්, ලේ ගමනය අඩාල වෙන්නත්, හදවත් රෝග ඇති වෙන්නත්, මොළයට ලේ සැපයීම අඩාල වෙන්නත්, ඒ මගින් අංශභාග රෝගය, කොමා තත්වය ඇති වෙන්නත්, පිළිකා තත්වයන් සහ තවත් රෝග බොහොමයක් ඇති වෙන්නත් පුළුවන්. මේ පිළිබඳව ඔවුන්ගෙ පසුතැවීමක්වත් තියෙනවද? ඔවුන් කරන්නෙ ඒ රෝගවලට මුල හොයා ගන්නෙ නැතිව, ඒකෙ ප්‍රතිඵලවලට තවත් බෙහෙතක් හදල දෙන එක. එතකොට ඉංග්‍රීසි වෙදකමේදී බෙහෙත් කරන්නෙ ඵලයට. නමුත් හෙළ වෙදකමේදී බෙහෙත් කරන්නෙ මූලයට හෙවත් හේතුවට. මොකද ඉංග්‍රීසි වෙදකමේදී පංචේන්ද්‍රියන්ට ගෝචර වන ක්‍රමවේද විතරයි අනුගමනය කරන්නෙ. පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන ගුප්ත පැත්ත ගැන බලන්නෙ නෑ.

අනෙක මේ ලෝකයේ තියෙන හැම දෙයක්ම ඇහැට කනට පේන්නෙ නෑ, ඇහෙන්නෙ නෑ කියන කාරණය දැන් තියෙන නවීන විද්‍යාවෙන්ම ඔප්පු කරල තියෙනවා. උදාහරණයක් විදිහට මනුස්සයෙක්ගෙ කනට ඇහෙන ශබ්ද සංඛ්‍යාත පරාසය හර්ට්ස් 20 - 20,000 අතර කියල හොයාගෙන තියෙනවා. ඒ




කියන්නෙ 20 ට අඩු ඒවත්, 20,000 ට වැඩි ඒවත් මනුස්සයින්ගෙ මස් ලේ කනට ඇහෙන්නෙ නෑ. නමුත් බල්ලන්ට හර්ට්ස් 20,000 ට වඩා වැඩි ශබ්දත් ඇහෙනවා. ඒ නිසාම තමයි විවිධ අපරාධවල අභිරහස් හොයා ගන්න සුනඛයන්ගෙ සහාය ලබා ගන්නෙ. පසු ගිය කාලයේ සුනාමි විපත් එන කොට මනුස්සයින්ට බේරෙන්න බැරි වුණත්, නිදැල්ලෙ හිටපු සත්තු බේරිලා පලා ගියෙත් ඒ අනතුරේ සංඥාව උන්ට වේලාසනින් දැනුන නිසා කියන කාරණය අද සම්මත විද්‍යාවත් පිළිග න්න දෙයක්. දැන් අපේ කනට ඇහෙන්නෙ නෑ කියල, මේ කියන භෞතිකවාදීන් ඒ කාරණය පිළිගන්නෙ නැත්ද?

ඒ වගේම දැන් තියෙන බ්ලූටූත් (Bluetooth) තාක්ෂණය ගත්තොත්, එක ජංගම දුරකතනයකින් තවත් ජංගම දුරකතනයකට රැහැන්වලින් තොරව විවිධ පිංතූර ඇතුළු වීඩියෝ දර්ශන පවා යවන්න පුළුවන්. හැබැයි ඒ දත්ත ගමන් කිරීම අපේ ඇහැට පේන්නෙ නෑ, කනට ඇහෙන්නෙ නෑ. නමුත් එක ජංගම දුරකතනයක තිබ්බ්ච ඒ දත්ත කිසිම වෙනසක් නැතිව අනෙකට ගියා කියන කාරණය පරීක්ෂා කරල බලද්දි ඇස් දෙකටම පේනවා. දැන් එතකොට එහෙම දෙයක් යනව ඇස් දෙකට පේන්නෙ නෑ කියල, මේ කියන භෞතිකවාදීන් ඒ කාරණය පිළි නොගෙන ඉන්නවද? නෑ. යනව නොපෙනුනාට, ගියාට පස්සෙ තිරය මත දර්ශනය වෙන නිසා පිළි ගන්නවා. හැබැයි මීට අවුරුදු 40 - 50 කට පෙර කිව්ව නම්, ඉදිරියෙදි මෙන්න මෙහෙම තාක්ෂණයක් එනව කියල ඒක එදා කවුරුවත් පිළිගන්නෙ නෑ. ඒ කියන කෙනාට පිස්සු කියල හිතයි. මොකද එදා එහෙම දෙයක් ගැන ඔප්පු කරන්න මස් ලේ ඇහැට කනට ගෝචර වන දත්ත තිබුණෙ නෑ. නමුත් එදා නොපිළිගත්ත දේ අද ඔප්පු වෙලා තියෙන නිසා පිළිගන්නවා.

ඉතින් මේ වගේ ඇහැට කනට පේන්නෙ නැති පලියට, ඇහෙන්නෙ නැති පලියට, එහෙම දේවල් නෑ කියන්නෙ කොහොමද? මේ කියන භෞතිකවාදීන්ට ඒ වගේ ගුප්ත ලෝකයේ දේවල් පේන්නෙ නැති නිසා, ඇහෙන්නෙ නැති නිසා, ඒවා තමන්ට පේන්නෙ නෑ, ඇහෙන්නෙ නෑ කිව්ව නම් ඒ කතාව සාධාරණයි. නමුත් **යමක් නොපෙනිච්ච පලියට, නෑහිච්ච පලියට එහෙම දේවල් නෑ කියන්නෙ කොහොමද?** තමන්ට දැනෙන කොටස විතරක් පිළි අරගෙන, නොදැනෙන කොටස නෑ කියන එක මොනතරම් මෝඩකමක්ද?

මේ වගේ එදා වැඩ හිටපු ලොව්තුරා බුදුන් වහන්සේ, අභිඥාලාභී මහරහතන් වහන්සේලා සහ තවත් විවිධ දිව්‍යස් ලාභීන්, මේ ලෝකයේ මනුස්සයින්ගෙ පංචේන්ද්‍රි-යන්ට ගෝචර නොවන දේවල් උන් වහන්සේලාගේ දිවැස්, දිව කන්, මහා ඥානවලින් දැකල ලෝකයට පෙන්වා දුන්නා. ඒ දිවැස්, දිව කන්, ඥාන ලබා ගන්න ක්‍රමයක් තිබ්බ්ච නිසාත්, ඒ ක්‍රමය උන් වහන්සේලා ලෝකයට කියා දුන්න නිසාත්, ඒ ක්‍රමය අනුගමනය කරල කලින් එහෙම හැකියාවක් නොතිබ්බ්ච අය පසුව ඒ හැකියාවන් ලබා ගත්තා. ඒ හැකියාවන් තුළින්

එහෙම නොපෙනෙන දේවල් තියෙයි කියන කාරණය ඔප්පු කළා. ඒ කියන්නෙ සාමාන්‍ය තත්ව යටතේ ගුප්ත ලෝකයේ දේවල් නොපෙනුනාට, ඒ ක්‍රමවේද ප්‍රගුණ කිරීම තුළින් අනෙක් අයටත් තම තමන්ගෙ මට්ටම්වලින් ඒ හැකියාව ලබා ගන්න පුළුවන්. නමුත් ඒ වගේ හැකියාවක් නැති අය, හැකියාව තියෙන අයට පිස්සු කියල කිව්වොත්, ඒ කියන අයගෙ මොළය පරීක්ෂා කරල බලන්න වෙනවා. මොකද මේ පංචේන්ද්‍රියන්ට වඩා හයවන ඉන්ද්‍රිය වන මනේන්ද්‍රියේ ශක්තිය බලය අති ප්‍රබලයි. ඒ කාරණය අද වෛද්‍ය විද්‍යාව පවා පිළි අරගෙන තියෙනවා. නමුත් ඒක ප්‍රගුණ කරල ඒ හැකියාවන් ලබා ගත්තු අය අද දුර්ලභ නිසයි, මේ වගේ භෞතිකවාදීන්ට තමන්ගෙ මත වපුරවන්න පහසුවෙන් ඉඩ ප්‍රස්ථාව ලැබිල තියෙන්නෙ.

ඉතින් මේ වගේ භෞතිකවාදීන් අද විතරක් නෙවෙයි, බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලෙත් හිටියා. නමුත් එදා නිවැරදිව කරුණු පෙන්වල දුන්නම, හේතු වාසනා තිබ්බ්ච ඒ සමහර පිරිස් පසුව ධර්මාවබෝධයත් ලැබුවා. සසරෙ කරපු මොනව හරි හේතු වාසනා යටපත් වෙලා තියෙන අයට එහෙම අවස්ථා ලැබෙන්න පුළුවන්. නමුත් ඒකටත් ඉතින් හරි දහම මතු වෙලා ඒක විග්‍රහ කරල දෙන්න පුළුවන් අය ඉන්න ඕන. එහෙම නැත්නම් දෙවියන් බඹුන් නැති තැන අමනුස්සයො පිනුම් ගහනව වගේ වැඩක් තමයි වෙන්නෙ.

එතකොට මේ භෞතිකවාදීන් කියන්නෙ මොන වගේ විද්‍යාවක්ද? මේ "විද්‍යාව" කියල ගන්න "අවිද්‍යාව" මත පදනම් වෙලා, ඔවුනුත් මුලා වෙලා අනික් අයත් මුලා කරනවා. මේක සාධාරණද?

මේ කාරණය මස් ලේ ඇහින් නෙවෙයි, මනසින්ම විමසා බලන්න ඕන. ඔවුන්ට මේ නවීන විද්‍යාව කියල ගන්න දේ මගින් මුළු මහත් ලෝකයටම සිද්ධ වෙන විනාසය පේන්නෙ නෑ. ඔවුන්ට පේන්නෙ පැරණි ඉගැන්වීම්වල තියෙන, ඔවුන්ට විග්‍රහ කර ගන්න බැරි දේවල් විතරයි. ඒකට හේතුව තමයි, ඒවා පංචේන්ද්‍රියන්ට ගෝචර නොවීමත් ඒවා ලෝකයේ කොහේ හරි තැනක විද්‍යාගාරවල පරීක්ෂණ කරල හෙළිදරව් කරපු ඒවා නොවීමත්, බටහිර ජාතීන් ඊට මැදිහත් නොවීමත් කියන කාරණා.

පොල් තෙල් පිළිබඳවත් සඳහන් කරල තියෙන නිසා ඒ ගැනත් යම් විමසා බැලීමක් කිරීම හොඳයි. අග්ගඤ්ඤ සූත්‍රයේ මේ සඳහා පාදක වන කරුණු මනාව පැහැදිලි කරල තියෙනවා. වාසෙට්ඨ කියන බ්‍රාහ්මණයා මූලික කරගෙන තමයි බුදුන් වහන්සේ මේ පැහැදිලි කිරීම කළේ. හැබැයි මේ පැහැදිලි කිරීම මීට පෙර හෙළ බොදු පියුම 4 සහ 32 කලාපවල සම්පූර්ණ විස්තර සහිතව පල කරල තියෙන නිසා නැවතත් සඳහන් කරන්න අවශ්‍ය නෑ. නමුත් ඒ විග්‍රහයේ එන වැදගත්ම කරුණු කිහිපයක් නැවතත් මේ විදිහට මතක් කරල දීම සුදුසුයි.

කල්ප ආරම්භයේදි ආභස්සර බ්‍රහ්ම ලෝකයේ පටන් මේ ලෝකයට බ්‍රහ්ම කල්පික මනුස්සයින් එන කොට ඔවුන්ට කිසිම බාහිර දෙයක අවශ්‍යතාවයක් තිබුණෙ නෑ. ඒ කියන්නෙ තමන්ගෙන්ම විහිදෙන ආලෝකයත්, ප්‍රීතිය ආහාරයක් ලෙසත්, කිසිවෙකුගෙන් උදව්වක් නැතිව ඍජුව හිටීමේ හැකියාවත් තිබුණා. එදා ඔවුන් සතුව ඇස් තිබුනෙ දකින්න විතරයි. කන් තිබුනෙ අහන්න විතරයි. නාසය තිබුනෙ හුස්ම ගන්න විතරයි. (ගඳ සුවඳ විඳින්න නෙවෙයි) කට තිබුනෙ කතා කරන්න විතරයි. (කන්න නෙවෙයි.) ඒවා පවත්වා ගෙන යන්න ශරීරයකුත් තිබුණා. නමුත් ඔවුන්ගෙ තිබ්බ්ච රස තණ්හාව මතු වෙලා පොළවෙ තියෙන කිරි යොදය ආහාරයට ගන්න පෙළඹුනා.

දැන් මේ පහත විස්තරය ඒ විදිහටම අග්ගඤ්ඤ සූත්‍රයේ නැතත්, ඒ ධර්මානුකූල විග්‍රහය නැණ නුවණින් තේරුම් අරගෙන පොල් ගහේ බිහි වීම මේ විදිහට පහදන්න පුළුවන්.

ඇහැට, කනට විතරක් ලොල් වෙලා හිටපු මනුස්සයා ඒ කිරි යොදය ගැනීමෙන් පසුව නාසයට, දිවට, ශරීරයටත් ලොල් වීමෙන්, ඒ කියන්නෙ පහටම ලොල් වීමෙන් තමන් ළඟ තිබ්බ්ච ඒ සුද්ධ ගති හෙවත් ඍජු ගතිය, ස්වයං ප්‍රභා ආලෝකය, ආරක්ෂාව අහිමි කර ගත්තා. හිරු සඳු ග්‍රහ තාරකා නොතිබුණු ලෝකයට ඒවා පහල වුණා. මේ පහටම ලොල් වීම නිසා, පහට ලොල් නොවූ ගතිය අපෙන් දුරස් වෙලා, පහලොල් කියන පොල් ගස බිහි වුණා. ඒක කල්ප ආරම්භයෙදි සිද්ධ වෙච්ච නිසා කල්ප ආරම්භ රුක හෙවත් සිතු පැතු සම්පත් දෙන කප් රුක කියලත් හඳුන්වනවා. ඒ අහිමි වෙච්ච ඍජු ගතියට ගහ කෙලින් පිහිටල, අහිමි වෙච්ච ආලෝකය ලබා ගන්න පොල් තෙල් ගැබ් වෙලා, අහිමි වෙච්ච ආරක්ෂාවට පොල් අතුත්, ආහාරයට පොල් මදයත්, බීමට පොල් වතුරත් සහ තවත් බොහෝ සම්පත් දෙන මේ පොල් ගහ අපට විපතක් කරනව කියන්නෙ කොහොමද?

ඉතින් මේ ගුණය දැනගෙන හිටපු පැරැන්නන් හැම ආහාරයකම විස නසන්න පොල් කිරි භාවිතා කළා. ලන්දේසි, ඉංග්‍රීසි කාලෙදි සිංහලයන්ව අඩපණ කරන්න දෙල් ගෙනාවම, අපේ පැරැන්නන් ඒකට පොල් එකතු කරල විස නසල ආහාරයට ගත් බවට ඉතිහාසය සාක්ෂි දරනවා. මේ කියන්නෙ අපේ තිබ්බ්ච සිංහල දෙල් ගැන නෙවෙයි, දැනට වෙළඳපොලේ පවා බහුලව තියෙන රට දෙල් ගැන. ඒ දෙල් තම්බල කනවා, ව්‍යංජන විදිහටත් හදනවා. ඒක පිටරටින් හඳුන්වා දීපු දෙල් වර්ගයක්. ඒක අපේ රටේ අයට විතරක් නෙවෙයි ඒ රටවල්වල අයටත් හොඳ නෑ. ඒවා නිකං ආහාරයට ගත්තම ශරීර ශක්තිය අඩපණ වෙනවා. පිටරටියන් ඒවා මෙරටට ගෙනත් දැම්මෙ මෙහේ මිනිස්සු අඩපණ කරන්න. ඒ අය හිතාගෙන හිටියෙ අපේ අය ඒක නිකං ආහාරයට ගනියි කියල. හැබැයි ඒ අය දැනගෙන හිටියෙ නෑ ලංකාවෙ මිනිස්සු ඒ ගැන දන්න බව. අපේ රටේ අය තමයි ඒක නිකං කෑවොත් අගුණයි පොල් එක්ක කෑවොත් ගුණයි කියල හොයාගත්තෙ. ඒ නිසා අපේ පැරැන්නො දෙල්වලට පොල් එකතු කරල ආහාරයට ගත්තා. පොල් එක්ක ගත්තම ශක්තිය වැඩියි, අගුණයක් නෑ. ව්‍යංජන හැදුවත් පොල් කිරි දානවා. එහෙම නැත්තම් පොල් තෙල් දාල තෙම්පරාදු කරනවා. එහෙමත් නැත්තම් පොල් දාල දෙල් මැල්ලුම් විදිහට හදනවා. කෙනෙකුට වසක් විසක් කැවුනත් ඒක ඉවත් කරන්න පොල් කිරි දෙන සිරිතක් අදත් තියෙනවා.

හැබැයි මේ විග්‍රහයන් එක පැත්තකින් ඩාවින්ගෙ පරිණාම වාදයටත් විරුද්ධයි, මහා පිපිරුම් නියමයටත් විරුද්ධයි. නමුත් සිද්ධ වුණේ මේකයි. මේ විදිහට මනුස්සයින්ගෙන් දුරස් වෙච්ච ඒ ඒ ගුණයන්ට අදාළ ශක්ති විශේෂයන්ගෙන් ලෝකයේ විවිධ ශාක වර්ග හට ගත්ත හැටි "ද්‍රව්‍ය පදාර්ථ ඥානයට හසුවන

විවිධ ශාකවල සැඟවුණු ඖෂධ ශක්තීන්" නමින් හෙළ බොදු පියුම 26 - 32 දක්වා කලාපවල ලිපි පෙළක් වශයෙන් පල කරල තියෙනවා. එතකොට මේ කාරණා පැරැන්නන් විද්‍යාගාරවල පරීක්ෂා කරල හොයා ගත්තු ඒවා නෙවෙයි. ඔවුන් මනස දියුණු කරල බලා ගත්තු දේවල්. ඒ නිසා මේක එදත් අදත් හෙටත් වෙනස් නොවන ධර්මතාවක්. ඒ කියන්නෙ **විද්‍යාවෙ මූලික ලක්ෂණය වන තුන් කාලයේම නොවෙනස් වන බව අපේ පැරැන්නන්ගෙ සොයා ගැනීම්වල තියෙනවා.**

අග්ගඤ්ඤ සූත්‍රයේ තවත් දේවල් සඳහන් වෙනවා. ඒ තමයි මනස දියුණු කළ, එහෙම නැත්නම් ධ්‍යාන උපදවා ගත් උතුමන් විසින්, ධ්‍යාන නැති පිරිස් වෙත ඒ ධ්‍යාන මගින් ලබා ගත් දැනුම අපනයනය කළ නිසා අධ්‍යාපනය බිහි වුණා කියන කාරණය. ඒ කියන්නෙ ධ්‍යායී පිරිස් අධ්‍යායී පිරිස් වෙත දැනුම අපනයනය කිරීම මගින් අධ්‍ය + අපනයනය හෙවත් අධ්‍යාපනය බිහි වුණා. ඉතිං අදටත් සිද්ධ වෙන්නෙ ඒකම නෙවෙයිද? අද වෙන කොට ඉන්න අතලොස්සක් පමණ ධ්‍යාන ලාභීන් සහ පරීක්ෂණ කරල යම් යම් දේ සොයාගන්නා අය කරන්නෙත් තමන්ගෙ දැනුම අපනයනය කිරීම, අනුන්ට ලබා දීම.

අද ලෝකයේ බිහි වෙලා ඉන්න විද්‍යාඥයින් කරපු සොයා ගැනීම් දිහා බැලුවම පේන්නෙ, ඒවා විද්‍යාගාරවල පමණක් කළා නම් කිසි දාක ඒවා විද්‍යාත්මක සොයාගැනීම් වෙන්න ඉඩ නැති බව. මොකද ලෝකයේ බොහෝ ප්‍රමුඛ විද්‍යාත්මක සොයාගැනීම් අහඹු ලෙස සිද්ධ වෙලා තියෙන්නෙ. විද්‍යාගාරවල සොයා ගත්තත් ඒවා මුලින්ම සිද්ධ කරන්නෙ මනස මූලික කරගෙන. ඒ කියන්නෙ විද්‍යාගාරයට කලින්, මනසින් ඒ පරීක්ෂණ හෝ උපකල්පනය කරනවා. ආසන්නයට කල්පනා කරනවා. නමුත් ධ්‍යාන ලාභීන් කරන්නෙ මනස දියුණු කරල හේතුඵල දැකීම.

උදාහරණ විදිහට වා, පිත්, සෙම්... අරළු, බුළු, නෙල්ලි... කියන මේවායේ හේතු ඵල පැහැදිලි කරන්න පුළුවන්. ලෝකය හටගත් මුල් කාලයේ ප්‍රධාන වශයෙන් ඖෂධ ශාක විදිහට තිබුණේ අරළු, බුළු සහ නෙල්ලි කියන ඒවා. අදටත් ආයුර්වේදයේ එන ප්‍රධානතම ඖෂධ තුනක් තමයි මේ. මේ ලෝකය හටගත් මුල් කාලයේ දස අකුසල්වලින් තොරව ජීවත් වෙච්ච මනුස්ස පිරිසක් ගැනත්, ඔවුන් ක්‍රමයෙන් පිරිහිලා, අට අනූවක් රෝග නව අනූවක් ව්‍යාධි ආදිය හැදුනු හැටිත් මීට පෙර මේ සඟ රාවෙන් පැහැදිලි කරල තියෙනවා.

දස අකුසල්වලින් තොර වුණාම දූෂ්‍යතාවයක් නෑ. එතකොට ලෙඩ රෝගවලට මුලක් නෑ. හැබැයි මෙතන අකුසල්වලින් තොරයි කිව්වට, ඒවා ප්‍රහීණ කරල නෑ (නැත්තටම නැති කරල නෑ). ඒ කියන්නෙ අනුශය සහිතයි. ඒවා යටපත් වෙලා තිබුණ විතරයි. මොකද ප්‍රහීණ කළා කියන්නෙ ආපහු මතුවීමක් නෑ. ඒ තමයි අරිහතුන් වහන්සේගෙ ස්වභාවය. හැබැයි යටපත් වෙලා තිබුනම ඒවට අවශ්‍ය පරිසර සාධක ගොඩ නැගිච්ච මොහොතකදි ඒවා ආපහු නැගිල එන්න පුළුවන්.



එහෙම ආවට පස්සෙ දස අකුසල් එක්කම ලෙඩ රෝගවලට මුල් වුණා, දස කුසල් ඉවත දැම්මා, සාර ධර්ම ඉවත් කළා. හරවත් දේ ඉවතට දැම්මා. හරය කියන්නෙ සාර ධර්මවලට. හරය ඉවත ලූ නිසා ඊට අදාළ ශක්තිය පිට වෙලා ගිහින් (හර+ලූ) - අරළු කියන ශාකය හැදුණා. හැබැයි ඉවත් වුණාට විනාස වුණේ නැති නිසා ඒක ගිහින් වෙනත් විදිහකට තැන්පත් වුණා. අරළුවල තියෙන්නෙ ඒ විදිහට ඉවත් වෙච්ච ශක්තිය.

මේවා ලෝකයේ සත්‍යය යථාර්ථය දත් ශ්‍රමණ බමුණන්ගේ නුවණට හසු වන දේවල්. ඒ හැකියාව පංචේන්ද්‍රියන් ඉක්මවල මනස දියුණු කර ගත්තම ලැබෙන දෙයක්. ඒ අනුව මේ ගස් වැල්, පොළව, ජල ගෝලය, සතුන්... සියල්ල හැදිල තියෙන්නෙ හේතුවලට අනුකූල ඵල විදිහට. ඒ නිසා මේ හැම දෙයකින්ම අපට මෙලොව වශයෙන් ප්‍රයෝජනයක් තියෙනවා. ජීවක වෙද මහත්තය ශිෂ්‍යයෙක් වෙලා හිටපු කාලයේ, තමන්ගෙ ගුරුවරයා බෙහෙතකට නොගන්න දෙයක් ගේන්න කියල කිව්වම, කැලේ පීරල බැලුවත් බේතකට ගන්නෙ නැති දෙයක් සොයා ගන්න බැරි වුණා. ඒකෙන් කියන්නෙ, මේ සියල්ලෙන්ම අපට ප්‍රයෝජනයක් ගන්න පුළුවන් බව සහ ඒවා අපේම තිබිච්ච ගුණ දහම්වල ප්‍රතිනිර්මාණයන් බව.

ඒ වගේම මේකෙ විශේෂත්වය තමයි මේවා හැදිල තියෙන්නෙ ස්වභාවිකව වීම. ඒකට අපි ස්වභාව ධර්මය කියල කියනවා. ඒ කියන්නෙ ස්ව (තමන්ගෙ බව) දරන නිසා ස්වභාව ධර්මය කියල කියනවා. සාමාන්‍යයෙන් ස්වභාවිකව සකස්වන දේවල්වල අතුරු ආබාධ නෑ. ඒක අද අපි භාවිතා කරන නවීන විද්‍යාවත් පිළි අරගෙන තියෙනවා. නමුත් පරීක්ෂණාගාරවල සකස් කරන දේවල් තුළ බොහෝකොටම අතුරු ආබාධ තියෙනවා. එදා අතීතයේ ගොයමට පොහොර විදිහට දැම්මෙ ගොම පොහොර. ඒක ස්වභාවිකයි. අතුරු ආබාධ නෑ. ගොයමින් ගත්තු සහල් ආහාරයට ගැනීමෙන් අද වගේ ලෙඩ රෝග වැළඳුනේ නෑ. නමුත් අද පරීක්ෂණාගාරවල නවීන විද්‍යාව මත පදනම් වෙලා සකස් කරන පොහොරවලින් කොච්චර අතුරු ආබාධ හැදෙනවද? ඒ හේතුවෙන් අද වක්කඩක එක මාළු පැටියෙක්වත් හොයා ගන්න බැරි මට්ටමට පත් වෙලා. නමුත් අද ලෝකයා විස්වාස කරන්නෙ පරීක්ෂණාගාරවල කරපු පරීක්ෂණ පමණක් වීම කණගාටුවට කරුණක්.

මෙතනදි ස්වභාවිකත්වය ගැන මෙච්චර උළුප්පල පෙන්වන්න හේතු වුණේ, බුදුන් වහන්සේ පෙන්වා දුන් ඉතා වැදගත් නියමයක් මතු කරල දෙන්න. ඒ තමයි ගති ආකර්ෂණය. මේක ☞

ගුරුත්වාකර්ෂණ නියමයටත් එහා ගිය ගැඹුරු නියමයක්. ඒ කියන්නෙ සියල්ල ගුරුත්වය නෙවෙයි.

විශ්වයේ තියෙන ද්‍රව්‍ය වස්තුවල චලිතය පෙන්වන්න දැන් තියෙන ලෝක සම්මත විද්‍යාවෙන් යොදාගන්නෙ ගුරුත්වාකර්ෂණ සහ ඉපිලුම් කියන නියම දෙක. උදාහරණයක් විදිහට කළු ගල් කැටයක්, ජල බෝලයක්, හයිඩ්‍රජන් බෝලයක් කියන මේ තුන සමාන මට්ටමක තියාගෙන ජලාශයකට අතහරිනවා. දැන් හයිඩ්‍රජන් බෝලය උඩ යනවා. අනිත් දෙකම පහලට යනවා. පහලට ඇවිත් වතුර මට්ටමේ වදිනවත් එක්කම ජල බෝලය නතර වෙනවා. කළු ගල් කැටය ජලාශයේ පතුලටම යනවා.

දැන් මෙතනදි කළු ගල් කැටයේ සහ ජල බෝලයේ චලිතය විස්තර කරන්න ගුරුත්වාකර්ෂණ නියමයත්, හයිඩ්‍රජන් බෝලයේ චලිතය විස්තර කරන්න ඉපිලුම් නියමයත් කියන මේ දෙක තමයි අද විද්‍යාවෙන් යොදා ගන්නෙ. හැබැයි මීට වඩා සර්ව සාධාරණ විශ්ව මූලධර්මයක් තියෙනවා ගති ආකර්ශණ නියමය කියල. ඒ කියන්නෙ සමාන ගතියට සමාන ගතිය ආකර්ශණය වෙනවා. මේ උදාහරණයෙදි ඒ ගති ආකර්ශණ මූලධර්මය ගත්තොත්, ඝණ ගතිය හොයාගෙන වතුරට වැටිච්ච ගල ජලාශයේ පතුලටම යනවා. ගතිය හමුවුනාම නතර වෙනවා. ජල බෝලය ජල මට්ටමේ වැදුනම අවශ්‍ය ගතිය ලැබුන නිසා එතැන නතර වෙනවා. හයිඩ්‍රජන් බෝලය උඩු අතට ගිහින් තමන්ගෙ ඝණත්වයට සමාන ඝණත්වයක් උඩදි මුනගැහුනම එතැන නතර වෙනවා. එතකල් උඩටම ගමන් කරනවා.

දැන් මේ කියන ගති ආකර්ශණ නියමය අර නියම දෙකට වඩා සර්ව සාධාරණයි. මොකද ඒ නියම දෙකෙන් සියල්ලම පහදන්න බෑ. ගුරුත්වාකර්ශණ නියමයෙන් කළු ගල් කැටයේ සහ ජල බෝලයේ චලිතය විස්තර කළත් හයිඩ්‍රජන් බෝලයේ චලිතය විස්තර කරන්න බෑ. ඒ වගේම ඉපිලුම් නියමයෙන් හයිඩ්‍රජන් බෝලයේ චලිතය විස්තර කළාට අනිත් දෙකේ චලිතය විස්තර කරන්න බෑ. නමුත් මේ ගති ආකර්ශණ නියමයෙන් ඔය සියල්ලම පහදන්න පුළුවන්. තමන්ට අයිති, තමන්ට සමාන ගතිය හමුවෙනකල් ගමන් කරල ඒ ගතිය හමුවුනාම එතැන නතර වෙනවා. ඇයි කළු ගල උඩට නොගියෙ? ඒකෙ ගතිය උඩ නෑ. ඇයි හයිඩ්‍රජන් බෝලය පහලට නොගියෙ? ඒකෙ ගතිය පහල නෑ. එතකොට මේ ගති ආකර්ශණ නියමය බුදු දහමෙත් පෙන්වල තියෙනවා. **බුදුන් වහන්සේ දස අකුසල කම්ම පථ සූත්‍රයේ පෙන්වල තියෙනවා, ප්‍රාණ ඝාත කරන අය ප්‍රාණ ඝාත කරන අයට එකතු වෙනවා, සොරකම් කරන අය සොරකම් කරන අයට එකතු වෙනවා... ආදී වශයෙන් දස අකුසල ගතිවලට සමාන ගති තියෙන අය එකට එකතු වෙනව කියල.** ගති ආකර්ශණ නියමය කියන වචනය නැති වුනාට උන්වහන්සේ ඒ කාරණය තමයි මීට අවුරුදු 2600කට කලින් සර්වඥතා ඥානයෙන් දැකල විස්තර කරල තියෙන්නෙ.




දැන් මේ කාරණය අද සමාජයේ දකින්න තියෙන දෙයක්. සමාන ගති තියෙන අයට සමාන ගති තියෙන අය එකතු වෙනවා. දැන් අර සම්මත විද්‍යාවෙ එන ගුරුත්වාකර්ෂණ හා ඉපිලුම් නියම දෙක අර වගේ භෞතික ද්‍රව්‍ය වස්තුවලට ගැලපුවට, මිනිස්සු අතර තියෙන ආකර්ෂණය ඒ දෙකෙන් විස්තර කරන්න පුළුවන්ද? බෑ. හැබැයි මේ සියල්ල විස්තර කරන්න පුළුවන් මේ කියන ගති ආකර්ශණ නියමයෙන්. ඒක විශ්ව සාධාරණ නියමයක්. ඉහත උදාහරණයෙදි සම්මත විද්‍යාවෙ එන නියම දෙක යොදාගන්නවට වඩා පූර්ණ විග්‍රහයක් මේ ගති ආකර්ශණ නියමය යොදාගත්තම එනවා. ගුරුත්වාකර්ෂණ නියමය යොදාගත්-තොත්, ඇයි ගල් කැටය විතරක් පහලට ගියේ කියල ප්‍රශ්නයක් එනවා. එතකොට ඒ කාරණය විස්තර කරන්න ගති ආකර්ෂණ නියමය යොදා ගන්නම වෙනවා. එතකොට මේ ගති ආකර්ෂණ නියමය කියන විශ්ව සාධාරණ මූලධර්මය තුල තියෙන කුඩා උප කුලක දෙකක් විතරයි ගුරුත්වාකර්ෂණ සහ ඉපිලුම් නියමය කියන්නෙ. ඒ නියමයන් දෙකෙන් සමාන්‍ය දේවල් ටිකක් විග්‍රහ කළාට සත්වයින්ගෙ ගති ආකර්ශණය වගේ සංකීර්ණ දේවල් විස්තර කරන්න බෑ. ඒ නිසා ඒක සීමා සහිතයි. හැබැයි ගති ආකර්ෂණ නියමය එහෙම සීමා කරන්න බෑ. ඒක සර්ව සාධාරණයි. තෝරගන්න බැරි වුනාට එදා බුදුන් පියාණන් වහන්සේ ඒ කාරණය විස්තර කරල තියෙනවා.

ඊළඟට අපිට පෙනෙන සීමාවට එහා ගිය වර්ණාවලියක් තියෙන බව අද නවීන විද්‍යාවෙනුත් සොයාගෙන තියෙනවා. සාමාන්‍ය කැමරාව හරහාත් අපේ පියවි ඇසට නොපෙනෙන IR කිරණ (අධෝරක්ත කිරණ) දක ගන්න පුළුවන්. සරලවම එයින් පැහැදිලි වෙන්නෙ ඇස, කන, නාසය, දිව, ශරීරය යන පංචේන්ද්‍රියන්ගේ අඩුපාඩු සහ දෝස තියෙන බව. නමුත් අපිට නොපෙනෙන, නොඇසෙන සමහර දේවල් මේ ලෝකයේ ජීවත් වෙන වෙනත් ජීවීන්ට ගෝචර වෙනවා. උදාහරණ විදිහට කලින් සඳහන් කළා වගේ බල්ලන්ට බළලුන්ට අපට නොපෙනෙන දේවල් පේනවා, අපට නොඇසෙන දේවල් ඇහෙනවා. ඒ නිසා තමන්ට ගෝචර නොවූ පමණින් ඒවා නැති බව, අසත්‍ය බව පැවසීම කොච්චර සාධාරණද? මේ අනුව භෞතිකවාදීන්, හේතුවාදීන් කියල හඳුන්වන අය ඉන්න තැන පැහැදිලි වෙනවා. ඔවුන්ව උළුප්පල මේවා සඳහන් කරන්නෙ, ඔවුන්ගෙත් අනුගාමිකයන්ගෙත් යහපතට. ඒ කියන්නෙ ඒ අයත් සත්‍යයේ පිහිටුවීමේ අදහසින්. ඔවුන්ට ඔවුන්ගෙ මත දරන්න අයිතිය තිබුණත්, ඒ පටු දැනුම භාවිතා කරල අන්‍යයා නොමග යවනව නම් ඒක ඉතා ඛේදජනකයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**විද්‍යාවේදී අමිත් සමරනායක**
**බෙල්ලන්තර**
**077 4256683**

# සංසාර රෝගය...



සංසාර දුක ගැන පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. සං සාරයි වටිනවා කියල විස්වාස කළ නිසා ආස්වාද විඳින්න ක්‍රියා කළා, සං + කාර කළා. හැබැයි විස්වාස කළාට ඒක එහෙම වුනේ නෑ, දුක් ගිනිම දුන්නා. සත්‍යය දැක්කෙ නැති නිසා ඇතිවුන වැරදි විස්වාසයට අවිද්‍යාව කියල කියනවා. ඒ අවිද්‍යා සහගත විස්වාසය නිසා ආස්වාදයට තණ්හා වුනා.

එහෙනම් සංසාර දුක ඇති වුනේ අවිද්‍යාවෙන් තණ්හාවෙන් සංඛාර කළ නිසා. යම් කෙනෙක් මේ අවිද්‍යාවෙන් මිදිල සත්‍යය දැක්කොත්, අනේ මේ ලෝක සත්වයෝ දුක් විඳින්නෙ මේ සත්‍යය දැක්කෙ නැති නිසා නේද, මම වගේම මේ ලෝක සත්වයොත් යථාර්ථය දැකල මේ සංසාර දුකෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්වයෝ සංසාර දුකෙන් මිදෙත්වා, මේ සංසාර දුක හට ගත්තෙ අවිද්‍යාව නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්වයෝ අවිද්‍යාවෙන් මිදෙත්වා කියල පතනවා.

සං සාරයි කියන විස්වාසයෙන්, ආස්වාද විඳින්න සංඛාර කරල ලැබුණ මේ ගත සිත ඇත්තටම සුවයක් සැනසුමක් දෙනවද? පුංචි උදාහරණයක් බලමු. අපට අපේම ශක්තියකින් කැමති තැනකට පහසුවෙන් යන්න එන්න පුළුවන් නම් වාහනයක් උවමනාද? වාහනයක් ඕන නැත්නම්, වාහනයක් මිළදී ගන්න මුදල් හොයන්න වෙහෙසෙන්න ඕනත් නෑ. එතකොට බලපත්‍ර ගන්න, රක්ෂණය කරන්න, දුම් පරීක්ෂා කරන්න, ඉන්ධන මිළදී ගන්න, වාහනය සෝදා පිරිසිදු කරන්න, කැඩුනම හැපුනම අලුත්වැඩියා කරන්න... මේ ආදී දහසකුත් ප්‍රශ්නවලින් නිදහස්. සැරිසරන්න හදාගත්තු රියත් (සැරි + රිය = ශරීරය) මෙන්න මේ වගේ නිරන්තරයෙන්ම අපිව පෙළන එකක්. හුස්ම ගන්න අපහසු වුණොත් පෙළෙනවා, පිපාසයෙන් පෙළෙනවා, බඩගින්නෙන් පෙළෙනවා.

ජිගච්ඡා පරමා රෝගා - සංඛාර පරමා දුඛා... කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. මේ ගාථා ධර්මය සඳහන් වෙන්නෙ ධම්ම පදයේ සුඛ වග්ගය කියන කොටසෙ. ඒ වගේම මළ මූත්‍ර, කෙළ, සෙම් සොටු, දහදිය වැගිරෙමින් පෙළෙනවා, පිරිසිදු නොකළොත් දුගඳින් පෙළෙනවා, රෝග පීඩාවලින් පෙළෙනවා, පහ කරන්න ඕන දේවල් පහ කරගන්න බැරි වුනොත් පෙළෙනවා, වැඩියෙන් පහ වුනොත් ඒත් පෙළෙනවා, කොච්චර රක්ෂණය කළත් පෝෂණය කළත් දවසින් දවසම දිර දිරා මහළු බවට ළං වෙනකොට පෙළෙනවා, මහළු වෙලා තමන් කැමති දේ කැමති විදිහට කරගන්න බැරි වෙන කොට පෙළෙනවා, බය තැති ගැනුම්වලින් පෙළෙනවා, අන්‍යයන්ගෙ උපක්‍රමවලින් පෙළෙනවා, කර්ම විපාක ඇවිත් පෙළෙනවා.

සමහර වෙලාවට ආස්වාද ජනක දෙයක් ලැබුණම හිතනවා, දැන් හොඳයි පෙළීමක් නෑ කියල. පත පතා ඉඳපු ආස්වාදයක් ලැබුන නිසා එතෙක් කල් තිබුණ පෙළීම සමනය වීම තමයි ආස්වාදයක් ලැබුණ කියල වැරදි විදිහට තේරුම් ගත්තෙ. ඇත්තටම පෙළීමක් තිබුණෙ නැත්නම් ආස්වාදයකුත් නෑ. හිතල බලන්න, හොඳට බඩ පිරිල තියෙන වෙලාවක ආසම කරන විදිහෙ කෑම පිඟානක් ලැබුනොත්, ඒ වෙලාවට ඒකෙ ආස්වාදයක් නෑ. නමුත් අපරාදෙ ඒක ගන්න විදිහක් නැහැනෙ... කියල, ගන්න බැරිකම ගැනත් මනස පෙළෙනවා. කොටින්ම කිව්වොත් **නොපෙළෙන මොහොතක් හොයාගන්න නැති තරමට පෙළෙන මේ ශරීරය රෝගයක් වගේ. රෝගයක ස්වභාවයත් නිතර නිතර පෙළීම.**

ලෝක සත්වයා මේ රෝගය අමතක වෙන තරමට එදිනෙදා ජීවිත, ක්‍රියාකාරකම්වලින් (සංඛාර) පුරවගෙන ඉන්නෙ. තව අත්බැව් සිය දහස් ගණනක් යන තුරුත් මේ ශරීරය පෙළෙන එකක්ද කියන කාරණය හිතන්න වෙලාවක් නොඑන තරම් සංඛාර ගොඩ ගහගෙන තියෙනවා. සංඛාර විවිධයි. සමහර වෙලාවට කරන කියන වැඩ බලු වැඩක්, ගොන් වැඩක්, බූරු වැඩක්, දෙවියෙක් වගේ, අම්මෙක් තාත්තෙක් වගේ... මේ විදිහට වර්ග කරල කතා කරනවා. අතීතයේ ඒ විදිහට ගතිය සිහි කරල ක්‍රියාව ගැන කතා කළේ, ඒ කාලෙ ජීවත් වෙච්ච මග ඵල ලබපු පිරිස මනුස්ස භව, තිරිසන් භව, දේව භව, ප්‍රේත භව... ලැබෙන්නෙ මොන විදිහෙ

වැඩ කළාමද කියන කාරණය දැනගෙන හිටපු නිසා. ඒ ඒ භවට යා වෙලා සංඛාර කරන කොට, ඒ ඒ සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ සකස් වෙනවා. මැරෙන මොහොතෙදි ඒ ඒ භව සිහියට ඇවිත් ඒ ඒ විඤ්ඤාණයට අනුරූප නාම - රූප සකස් වෙලා, ඒ ඒ භවයේ උපදින්න හේතු සකස් වෙනවා. මෙතැනදි භව කියන්නෙ සතර මහා ධාතුන්ගෙන් සකස් වෙච්ච ඝනීභවන රූපයක් නෙවෙයි, ගතියක් (බලු ගතිය, බූරු ගතිය...). යම් සංඛාර නිසා නිර්මාණය වෙන කිරණ මට්ටමේ රූපයක්, භවට යා වෙලා, භව හද හදා සසර ගමනක දුක විඳින්න සිද්ධ වෙනවා.

කාමයන්ට ඇතිවුන කැමැත්ත හෙවත් කාමච්ඡන්දය නිසා, සං සාරයි වටිනවා කියල වරදවා වටහා ගත්තු කාරණයෙන් සංඛාර වඩල විඤ්ඤාණ සකස් වෙච්ච නිසා තමයි මේ විදිහෙ පෙළෙන කයක් ලැබුණෙ. පෙළෙන්නෙ ඒ කාමච්ඡන්දය අග්‍ර කරගෙන සංඛාර කළ නිසා. දැන් මේ පෙළීම සමනය කර ගන්න විවිධ උපක්‍රම හොයනවා, ඒ ඒ අරමුණු සමග රාගයෙන් ඇලෙනවා, අප්‍රිය අරමුණු ආවම ද්වේශයෙන් ගැටෙනවා, සමහර අරමුණු තේරුම් ගන්න බැරිව මුලා වෙනවා. කාම රාග, පටිඝ කියන මේ ක්‍රියාවලිය දුරු කළා නම් කාම රෝගය සං සිඳෙනවා, පෙළීම සමනය වෙනවා. චතුරාර්ය සත්‍යය දැන ගත්ත ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්ත්වයොත් මේ සංසාර රෝගයෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම්, හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර රෝගයෙන් මිදෙත්වා, මේ සංසාර රෝගය හට ගත්තෙ විඤ්ඤාණ නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ විඤ්ඤාණයන්ගෙන් මිදෙත්වා කියල පතනවා.

**මේ මනුස්ස ලෝකයෙන් චුතවන පිරිස අතරින් නිය පිටට ගත් පස් ස්වල්පයක් තරම් අල්ප පිරිසක් විතරයි සුගතියක උපදින්නෙ. මහ පොළොවෙ පස් තරම් විසාල පිරිසක් සතර අපාගත** වෙනව කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. ''මහණෙනි, වැළිත් යම් කෙනෙක් මිනිසුන් කෙරෙන් චුත වූවාහු නිරයෙහි උපදිත් නම් මේ සත්වයෝම ඉබොහෝය (ඉතා බොහෝය). ඒ කවර හෙයින් යත්, මහණෙනි සිවු අරිසස් නුදුටු බැවිනි...'' (සංයුක්ත නිකාය 5 වෙනි කාණ්ඩය, <u>මනුස්ස චුති සූත්‍රය</u>, 351 වෙනි පිටුව) එහෙනම් මේ මනුස්ස ලෝකෙ ජීවත්වෙන වැඩි පිරිස ගොඩනගන්නෙ දුගති සංඛාර. කාරණය පැහැදිළියි. සිවු අරිසස් නොදැක්ක නම් හේතු ඵල දකින්නෙත් නෑ. ඒ නිසා දස අකුසලයට බැහැ ගන්නවා.

පොඩි සසඳා බැලීමක් කළොත්, අද මනුස්ස ලෝකෙ වැඩි පිරිසක් ජීවත් වෙනව කියල කරගෙන යන්නෙ මොන විදිහෙ වැඩ පිළිවෙලක්ද? දරුවන් හදල වඩල පෝෂණය කරනවා, ඒ අයට ජීවත් වෙන්න ආදායම් මාර්ගයක් සකස් කර ගන්න පුළුවන් විදිහෙ වැඩ පිළිවෙලකට යොමු කරනවා, ඒ අයට සුදුසු විදිහෙ ආවාහයක් විවාහයක් කරල දෙනවා. මේ ටික කරල ඉවර වෙනකොට තමන්ගෙ ආයු කාලයෙන් 2/3 ක් තරම් ගෙවිල ඉවරයි. ඊ ළඟට කරන්නෙ දරුවන්ගෙ දරුවන්වත් ඒ මගම ගෙනියන එක. නැත්නම් විනෝද වෙවී රට වටේ, ලෝකෙ වටේ සවාරි යනවා, සංචාරය කරනවා. කෙටියෙන් කියනව නම් පසිඳුරන් පිනවනවා. දන්නෙම නැතිව ආයු කාලය ගෙවිල තමන්ගෙ කටයුතු තමන්ට කරගන්න බැරි අවස්ථාව ආවම තවත් හොඳ කයක්ම පතනවා.

මනුස්ස ලෝකෙ ගැන බැලුව වගේ තිරිසන් ලෝකෙත් ඇහැට පේන්න තියෙන නිසා ඒ සත්වයින් ජීවත් වෙනව කියල කරගෙන යන වැඩ පිළිවෙලත් මොන වගේද කියල බලමු. පැටවුන් හදල වඩල පෝෂණය කරනවා, කුඩා කාලෙදි ආරක්ෂා කරනවා, පැටවුන්ට ආදරය කරනවා, ඔවුන්ව සුරතල් කරනවා, ටිකක් ලොකු වෙන කොට තමන් ආහාර සොයාගන්න වැඩ පිළිවෙලත් පුහුණු කරනවා. ස්වාධීනව ජීවත් වෙන්න පුළුවන් වුනාම ඒ අයව අත්හැරල දමනවා. නැවතත් කාලයක් යනකොට පැටව් බිහි කරල ඒ වැඩ පිළිවෙලම චක්‍රයක් විදිහට ගෙනියනවා. මේ ලෝක දෙකේම වැඩි පිරිසක් ජීවත් වෙනව කියල කරගෙන යන වැඩ පිළිවෙලේ මූලික ක්‍රම රටාව එකම නේද කියල හිතල බලන්න. ක්‍රියාව (සංඛාර) සමාන නම් ඵලයත් සමානයි. වෙනසකට තියෙන්නෙ තිරිසන් ලෝකය කිච්චම ප්‍රධාන වශයෙන්ම විපාක ලෝකයක්. ලැබිච්ච විපාකය විඳිනවා. හැබැයි මනුස්ස ලෝකයේ ලැබිච්ච විපාක කොටසක් තිබුණත්, තමන්ට කල්පනා කරල බලල උපක්‍රමශීලීව සංඛාර වඩන්නත් පුළුවන්. ඒ සංඛාර හොඳ හෝ නරක වෙන්න පුළුවන්.

එහෙනම් මනුස්සයෙක් වුනොත් විතරක් කරන්න පුළුවන් විශේෂ වැඩ පිළිවෙලක් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. බුදු ගුණ, දම් ගුණ, සඟ ගුණ දැනගෙන සරණ යෑම, ඒ දහම් අනු දහම් මග තෝරා ගෙන ඒ අනුව මෙලොව පරලොව අභිවෘද්ධියත් සලසා ගෙන උතුම් නිවනින් සැනසෙන්න කටයුතු කිරීම තමයි ඒ වැඩ පිළිවෙල. මුලින් සඳහන් කළ වැඩ පිළිවෙල හැර, තෙරුවන් පුදන, මව් පිය වැඩිහිටි කුල දෙටුවන් පුදන, බණ දහම් අහල ඒ අනුව ජීවත් වෙන්න උත්සාහ කරන පිරිසකුත් ඉන්නවා. ඒ අය අතරිනුත් නිවන ගැන හිතන පිරිස ඉතාම අල්පයි. බොහෝ පිරිසක් කැමතියි නැති බැරි අසරණ වෙච්ච අයට පිහිට වෙන්න. ඒකත් නරක නෑ. නමුත් **ඇති හැකි අයත් නැති බැරි අය බවට පත්වෙන්න ලොකු වෙලාවක් ගතවෙන්නෙ නෑ.** සුළි සුළං, නාය යෑම්, කුණාටු, භූමි කම්පා, ගං වතුර, හදිසි අනතුරු... ආපදා එන්නෙත් නිකම්ම නෙවෙයි. මනුස්සයා දස අකුසලයට බැහැගෙන ආස්වාද විඳීමේ බලාපොරොත්තුවෙන් කරන කියන හිතන දුෂ්චරිත කටයුතුවල විපාක හැටියට තමයි ඒවා එන්නෙ.

ඒ නිසා නැති බැරි අය වගේම ඇති හැකි අයත්, සසර ගමන කියන මහා සැඩ පහරෙදි අනාථ පිරිසක්මයි. මේ කාරණය මුලින්ම දැකල පෙන්වා දෙන්නෙ බුදු පියාණන් වහන්සේලා. ඒ ඒ භවට යා වෙලා, භවයන්ට අනුරූප නාම - රූප පහළ කරමින් දුගතියට, සතර අපායට යන විසාල පිරිසට විඳින්න සිද්ධ වෙන අප්‍රමාණ දුක් ගිනි කඳ ප්‍රඥාවෙන් දකින ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්ත්වයොත් මේ සංසාර භයෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම, මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි

හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර භයෙන් මිදෙත්වා, මේ සතර අපා දුක කියන සංසාර භය හට ගත්තෙ නාම-රූප නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්වයෝ නාම- රූපයන්ගෙන් මිදෙත්වා කියල පතනවා.

ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉඳුරන්, ඒවාට ගෝචර වන රූප, ශබ්ද... ආදී අරමුණු රැස් කරන ආයතන බවට පත්වෙලා, ඇස මනාප රූප හොය හොයා දුවෙනවා, කන මනාප ශබ්ද හොය හොයා දුවෙනවා... රාග ආස්වාදයට බලාපොරොත්තු වෙන දේ ලබා ගන්න බාධා එනකොට ද්වේශයෙන් ගැටෙනවා. ජාති ධර්මවල ස්වභාවය, දිරන කැඩෙන බිඳෙන වැනසෙන බව නොදන්න නිසා, ආස්වාද දුන්න දේ ගෙවිල වැනසිලා යනකොට මුලාවෙන් අඬනවා, වැලපෙනවා.

නත්ථි රාග සමෝ අග්ගි
නත්ථි දෝස සමෝසහෝ
නත්ථි මෝහ සමං ජාලං
නත්ථි තණ්හා සමා නදී...

ධම්ම පදයේ මළ වග්ගයේ සඳහන් මේ ගාථාවෙන් බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ, **රාගය හා සමාන ගින්නක් නෑ, ද්වේශය හා සමාන සැඩ පහරක් නෑ, මෝහය හා සමාන දැලක් නෑ, තණ්හාවට සමාන ගංගාවක් නෑ කියල.**

ඒ කියන්නෙ මේ ලෝකෙ අපි ඇහින් දකින ගිනි කොච්චර දුක් සහිත වුනත්, භයානක වුනත් ඒවා නිවන්න පුළුවන් ක්‍රම තියෙනවා, ඒවායේ විපාක අවුරුදු දහස් ගණන් ඈතට යන්නෙ නෑ. නමුත් ඇසට නොපෙනෙන රාග ගින්නෙ ප්‍රමාණයක් දකින්නවත්, සීමාවක් දකින්නවත් බෑ. රාගය, ද්වේශය, මෝහය ගින්නක් වෙන හැටි හෙළ බොදු පියුම 8 වෙනි කලාපයෙන් විස්තර කරල තියෙන නිසා වැඩි විස්තර එතැනින් බලා ගන්න පුළුවන්.

මේ ගින්නේ භයානකකම දකින ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්වයොත් මේ සංසාර ගින්නෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම්, හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්වයෝ සංසාර ගින්නෙන් මිදෙත්වා, මේ සංසාර ගින්න හට ගත්තෙ ඇස කන... ආදී ආයතන හය නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්වයෝ සළායතනයන්ගෙන් මිදෙත්වා කියල පතනවා.

ඇස මන වඩන රූප බලාපොරොත්තු වෙනවා. දකින්න ලැබුනෙ නැත්නම් රූප පිපාසයෙන් ඇස දුවෙනවා. කන මන වඩන ශබ්ද අහන්න බලාපොරොත්තු වෙනවා, අහන්න ලැබුනෙ නැත්නම් ශබ්ද පිපාසයෙන් කන දුවෙනවා. කෝ මගේ දුව, පුතා, ස්වාමියා, නෑයා, හිතවතා... ආදී වශයෙන්, මොනවා වුනාද දන්නෙ



නෑ හොයල බලන්න යන්න ඕන කියල කරදර වෙනවා. අහවල් තැන වාහනයක් හැපිල කියනවා, අපේ ළමයිනුත් ඉස්කෝලෙ ඇරිල එන වෙලාව, මගෙ පපුව හෝස් ගාල දාල ගියා... සමහර වෙලාවට මෙහෙම කියනවා. දාල ගියා කිව්වෙ දැවිල ගියා කියන එක. මේ විදිහට ඇස, කන, නාසය, දිව, කය, මන කියන ආයතන හයම ඒ ඒ මන බැඳුන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන ස්පර්ශ අරමුණු නොලැබෙන කොට, ඒවාට දුක් කරදර එනකොට දාගෙන යනවා. මේ හය දාගෙන යන ස්වභාවයට කියනවා දා+භය - දාහය කියල.

සං සාරයි කියල අවිද්‍යාවෙන් ගත්තු තීරණය නිසා ආයතන හය හදා ගත්තෙ ආස්වාද විඳින්න. නමුත් ආස්වාද රූප කියන්නෙත් ජරාවට ව්‍යාධියට මරණයට ගොදුරු වෙන, එකොලොස් මහා ගින්නකට උරුමකම් කියන ජාති ධර්ම කොටසක්. ඒ හේතුවෙන් සුන්දරව පෙනෙන ලෝකයේ ගින්දර නොදැක භවයෙන් භවය සසර ගමනක අනන්ත අප්‍රමාණ දුක් ගිනි, දාහ ගිනි විඳිනවා. මේ දාහයේ බලවත්කම දකින ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්වයොත් මේ සංසාර දාහයෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්වයෝ සංසාර දාහයෙන් මිදෙත්වා, මේ සංසාර දාහය හට ගත්තෙ ඇස, කන... ආදී ඉන්ද්‍රියන් ආයතන කරගෙන ඒ හයට වර්ණ රූප, ශබ්ද රූප, ගන්ධ රූප... ආදිය ස්පර්ශ වුන නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්වයෝ ස්පර්ශයන්-ගෙන් මිදෙත්වා කියල පතනවා.

ස්පර්ශ හේතුවෙන් ඊළඟට වෙන්නෙ මොකක්ද? වේදනා හට ගන්නවා. මන වඩන ස්පර්ශයකින් සැප වේදනාවක්, අප්‍රිය අමනාප ස්පර්ශයකින් අප්‍රිය අමනාප දුක් වේදනාවක් දැනෙනවා. මැදහත් ස්පර්ශයකින් මැදහත් වේදනාවක් දැනෙනවා. වේදනා කියන්නෙත් ජාතියක්. ඒ නිසා ජාතියකට උරුම ජරා, මරණ... ආදී සියලු දුක් ගිනි ඒවාටත් උරුමයි. සැප වේදනා ගෙවිල යනවට කැමති නෑ, නමුත් ගෙවිල යනවා. ඒ නිසා දුකයි. දුක් වේදනා එනවට කැමති නෑ, නමුත් එනවා. ඒ නිසා දුකයි. ජීවිතයක් පවතින නිසයි මැදහත් වේදනා එන්නෙ. නමුත් ජීවිතය කියන්නෙම පෙළීමක් කියල මුලදිම දැන ගත්තා. ජීවිත කියන කොට ජී කියන්නෙ මළ මුත්‍ර, විත කියන්නෙ උරනවා. මළ මුත්‍ර හා සමාන දේ උරනවා කියන එකයි ජීවිත කියන්නෙ. ඒ නිසා මැදහත් වේදනාවත් දුකයි.

කායික මානසික යම් සුවයක් තිබුණ නම්, දුක් වේදනා එනකොට ඒ සුවය ගෙවිල වැනසිලා ක්ෂය වෙලා යනවා. වනේ ඉන්න වන හතුරෙකුටවත් මේ වගේ දුකක් සිද්ධ වෙන්න එපා කියල සෝකය පිට කරනවා. ස්ව+ඔක්ක කරනවා, සෝක කරනවා. මේ සෝකයට හේතුව අවබෝධ කර ගත්ත ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්වයොත් මේ සංසාර සෝකයෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්වයෝ සංසාර සෝකයෙන් මිදෙත්වා, මේ සංසාර සෝකය හට ගත්තෙ වේදනාව නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්වයෝ වේදනාවෙන් මිදෙත්වා කියල පතනවා.

සං සාරයි කියන අවිද්‍යාවෙන්, ආස්වාද ජනක වේදනා විඳින්නයි බලාපොරොත්තු වුනේ. ඒ නිසා වේදනාවට තණ්හා වුනා. තැන හා වුනොත්, බැඳුනොත් අත්හරින්න බෑ. ඒකෙම ඇලිල බැඳිල ඉන්නවා. මේ තණ්හාවෙ ස්වභාවය පෙන්වන උපමා කතාවක් තියෙනවා. වඳුරන් අල්ලන මිනිස්සු කුරුම්බ ගෙඩියක කට කුඩාවට කපල ඇතුලෙ තියෙන ලොඳ හූරල වඳුරා එන ප්‍රදේශයේ යම් තැනක තියනවා. ඒ සතා ලොඳවලට තියෙන කැමැත්ත නිසා අර කුඩා කට තියෙන ගෙඩිය ඇතුලට අත දාල ලොඳ ටික මිටි කර ගන්නවා. දැන් මිට මොලව ගත්ත අත කුඩා සිදුරෙන් එළියට ගන්න බෑ. ලොඳ ටික අතහරින්නත් වඳුරා කැමති නෑ. අත එළියට ගන්න ඌ වෙහෙස වෙන අතරෙ මිනිස්සු ඌව අල්ල ගන්නවා.

මෙන්න මේ වගේ, යමකට තණ්හා වුනොත් මරණය ගැනවත් සිහි වෙන්නෙ නෑ, ඒකට බැඳිල ඉන්නවා. පංච කාමයන්ගෙන් ලබන වේදනාවන්ට තණ්හා වෙන ලෝක සත්ත්වයාට කාමයන්ගෙ ආදීනව පේන්නෙ නෑ, මර උගුලකට අත දානවා. ආස්වාද ගේන රූප, ශබ්ද, ගන්ධ... ආදී සියල්ල ජාති ධර්ම. ජරා, මරණ... ආදී සියලු ගිනි ඒවාටත් උරුමයි. සැප ගෙවිල යනකොට දුකයි. විපාක වශයෙන් එන දුක් කරදරවලින් මිදෙන්න ගැටෙන කොට ගොඩනැගෙන දුක් එනවට කැමති නෑ. නමුත් එනවා, ඒ නිසා දුකයි. මේ කාම රාගය දුකක් කියල වැටහීමක් ඇතිවෙන පිරිස දැඩි කාම කය අතහැරල, ඊට වඩා මෘදු ගුණ තියෙන දිව්‍ය බ්‍රහ්ම ලෝකවල උපදින්න ඇත්නම් කියල රූප ලෝකයට හිත තියනවා. **දෙවියෙක් වෙන්න කරන ලද යම් පිනක් ඇත්නම්, ඒ පින ගෙවිල යනකොට දෙවියන්ටත් චුත වෙන්න සිද්ධ වෙනවා. ඒ වෙලාවට පැළඳගෙන ඉන්න දිව්‍ය මල් මැලවෙනවා, දිව්‍ය සළු කිලිටි වෙනවා, සිරුරෙන් දහදිය වැගිරෙනවා. ජරා මරණ එතැනත් තියෙනවා, ඒ දුක දාහය දැනෙනවා.** බඹ ලොව ගියත් ධ්‍යානයෙන් පිරිහෙන කොට (ලෞකික ධ්‍යාන) චුත වෙන්න සිද්ධ වෙනවා, නැවත කොතැනක උපදිනවද කියන්න දන්නෙත් නෑ. සුද්ධාවාස බඹ තලයක පහළ වෙන අලෝකමය කයක් වුනත් යම් ප්‍රමාණයක කායික පෙළීමක් නිසා ඒ අයත් ඉරියව් මාරු කරනවා. එළි කඳක් කියන්නෙත් ජාතියක්. ඒ නිසා යම් ප්‍රමාණයකට ජරා මරණ ඒකෙත් තියෙනවා.

රූපයේ ආදීනව දැකල රූපයක් නැත්නම් කියල හිතනවා, නමුත් ජීවත්වීමේ බලාපොරොත්තුව අතහැරල නැති නිසා අරූප බඹ තලයේ උපදිනවා. අරූප කියල ව්‍යවහාර කළත්, රූපයක් නැතිව නාමයක් පවතින්නෙ නෑ කියන ධර්ම න්‍යායක් තියෙනවා. ඒ නිසා යම් ප්‍රමාණයක රූපයක් තියෙනවා. වේදනා, සංඥා විතරක් වුනත් ඒවත් අයිති ලෝකයටමයි. ලෝකය අසාර නම් අරූප ලෝකයත් අසාරමයි.

තණ්හාය ජායතී සෝකෝ
තණ්හාය ජායතී භයං
තණ්හාය විප්ප මුත්තස්ස
නත්ථි සෝකෝ කුතෝ භයං

ධම්ම පදයේ පිය වග්ගයේ සඳහන් මේ ගාථාවෙන් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා, තණ්හාව හේතුවෙන් බය, සෝකය උපදිනව කියල. තණ්හා වෙන අරමුණ අග්‍ර කරගෙන ඒකෙන් ආස්වාද විඳ විඳ ජීවත්වෙන වැඩපිළිවෙල රාග වැඩ පිළිවෙලක් වෙනවා. මේ කාරණා අවබෝධ කර ගත්ත ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්වයොත් මේ සංසාර රාග යෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර රාගයෙන් මිදෙත්වා, මේ සංසාර රාගය හට ගත්තෙ තණ්හාව නිසා නේද, මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ තණ්හාවෙන් මිදෙත්වා කියල පතනවා.

යම් දෙයකට තණ්හා වෙලා ඇසුරු කරන කොට ඒක අයිති කරගන්නයි ඊළඟට බලාපොරොත්තු වෙන්නෙ. ආසන්නයට ඇදී යන මේ ගතියට, ආසන්නයෙන් ළං වෙලා ඉන්න ගතියට උපාදානය (උප + ආදාන) කියනවා. අයිති කරගන්න නම් ඒ අරමුණට නිතර නිතර තණ්හා වෙන්න ඕන. ගින්දරට ළංවෙන්න ළංවෙන්න දැවෙන ගතිය වැඩි වෙනවා. ඒ විදිහට ළං වෙවී ආස්වාද විඳින්න බලාපොරොත්තු වෙන අරමුණ ගෙවිල වැනසිලා ගියොත් දැනෙන දුක් ගින්දරෙන් හිත ගත දෙකම දැවෙනවා. රූප, ශබ්ද, ගන්ධ ... ආදී අරමුණු කියන්නෙත් එකොළොස් මහා ගින්නක් උරුම ජාති ධර්ම. ලෝක සත්වයා තණ්හාවෙන් උපාදාන කරන්නෙ මොනවද?

ආස්වාද විඳින්න හොඳයි වටිනව කියල ඇස උපාදාන කරනවා, ඇසට ගෝචර වෙන රූප උපාදාන කරනවා, ඒ දෙකේ ස්පර්ශයෙන් හටගන්න චක්ඛු විඤ්ඤාණ උපාදාන කරනවා, ඒ රූප අරමුණු කරගෙන විවිධ ආස්වාද ජනක සිතිවිලි, ක්‍රියා, වදන් ගොඩ නගමින් සම්ඵස්ස උපාදාන කරනවා, ඒ සම්ඵස්සයන් හේතුවෙන් ගොඩනැගෙන සම්ඵස්සජා වේදනා උපාදාන කරනවා. ඇස මුල් කරගෙන මේ විදිහට උපාදාන 5 ක් සකස් වෙනවා. මේ විදිහට කන, නාසය, දිව, කය, මන මුල් කරගෙන 30 (5×6) පොළක උපාදාන සකස් වෙනවා. මේ තිස් පොළට උපාදානයෙන් බැඳුනම ඒක මහා බැම්මක් වගේ, සසර දුකෙන් මිදෙන්න අමාරුයි. මේ කාරණා අවබෝධ කර ගත්ත ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්ත්වයොත් මේ සංසාර බැම්මෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි ☞

අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර බැම්මෙන් මිදෙත්වා, මේ සංසාර බැම්ම හට ගත්තෙ උපාදානය නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ උපාදානයෙන් මිදෙත්වා කියල පතනවා.

සංසාර භයෙන් මිදෙත්වා කියන කාරණය පැහැදිලි කරද්දි භව හැදෙන හැටි පෙන්නුවා. එතැනදි භව කිව්වෙ ගති ලක්ෂණයකට. ඒ ගති ලක්ෂණයට අනුරූපව නාම - රූප, සලායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන පහළ කරගෙන, උපාදාන ප්‍රත්‍යයෙන් භව හටගෙන සතර අපායේ උපදින්න සිද්ධ වෙනවා. ඒ අනාගත භය තමයි එතැනදි සංසාර භය කියල පෙන්නුවෙ. ඒ ගති ලක්ෂණය අතහරින්නෙ නැතුව දිගින් දිගටම පවත්වාගෙන ආවම ස්ථිර වශයෙන් ඒ උප්පත්ති භවය සකස් වෙනවා. ඇස, කන, නාසය, දිව, කය, මන උපයෝගී කරගෙන බලු වැඩට (රාග, ද්වේශ, මෝහ නිශ්‍රිත වැඩ) කැමති වෙලා, ඇසෙන් බලු බැල්ම හෙලනවා. අසාර බලු ශබ්දවලට කැමති වෙලා බලු ශබ්ද විඳිනවා. නොවිඳිය යුතු මත්පැන් ගඳ වගේ දේවල් සුවඳ හැටියට සලකල බලු සුවඳ විඳිනවා, මස් බිත්තර වගේ සත්තු මරල පුළුස්සල සකස් කරගත් ආහාරවලින් බලු රස විඳිනවා, වැරදි කාම සේවනය වගේ බලු ස්පර්ශ විඳිනවා, ඒ වගේ බලු සංඛාර සිහි කරමින් බලු ධර්ම ආස්වාද විඳිනවා.

මේ විදිහට ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන් 6 කින් උර උරා බලු භව විඳිමින් බලු භවයක උපදින්න විඤ්ඤාණ සකස් වෙලා උපාදාන වෙනවා. අවිද්‍යාව නිසා මේ විදිහට අනන්ත අප්‍රමාණ භවවලට බැඳිල එක මනුස්ස අත්බැවකදි මතු උපදින්න භවයන් සකස් කර ගන්නවා. කල්ප ගණනක් තවත් ඉදිරියට උපදින්න තරම්, එක සත්වයෙක් වෙනුවෙන් මේ විදිහට සකස් වෙච්ච භවයන් තියෙන බව බුදු ඇසින් දැකල දේශනා කරල තියෙනවා. නමුත් යම් කෙනෙක් සිවු අරිසස් දැකල අරි අටඟි මග අනුගමනය කරනව නම්, ඒ භව සයුරෙන් මිදෙන්න පුළුවන් බවත් දේශනා කරල තියෙනවා.

''පටිපන්නා පාමොක්ඛන්ති
ඣායිනෝ මාර බන්ධනං...''

තථාගතයන් වහන්සේ දේශනා කරන ලද නිවන් මග දැනගෙන පිළිපන්නේ මාර බන්ධනයෙන් මිදෙන්නේය කියන එකයි ධම්ම පදයේ එන ඒ ගාථාවෙන් පෙන්වල තියෙන්නෙ.

මේ කාරණා අවබෝධ කර ගත්ත ආර්ය ශ්‍රාවකයා, තමන් වගේම සියලු ලෝක සියලු සත්ත්වයොත් මේ සංසාර සයුරෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර සයුරෙන් මිදෙත්වා, මේ සංසාර සයුර හට ගත්තෙ භව නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ භවයෙන් මිදෙත්වා කියල පතනවා.

භවවලට රාගයෙන් ඇලීමෙන් භව සයුරක් හැදුන වගේ, අප්‍රිය අමනාප අරමුණු එක්ක ද්වේශයෙන් ගැටෙනවා, ද්වේශයේ ස්වභාවය දැවෙන තැවෙන ගතිය, රෞද්‍ර බව නිසා කිසිම සිසිල් සෞම්‍ය ගතියක් නෑ. ද්වේශය නැගිල තියෙන වෙලාවට ඒ පුද්ගලයගෙ රූපයේ පෙනුම වුනත් දැවෙන තැවෙන පිච්චෙන රෞද්‍ර ගති මතු වෙලා පේනවා. එක ද්වේශ අරමුණකින් තවත් ද්වේශ අරමුණකටමයි හිත යන්නෙ. කැමති අරමුණක් ආවත් ඒකෙ අඩුපාඩුවක්මයි දකින්නෙ. කාන්තාරයක ස්වභාවයත් මේ වගේ. කටුක දුක් ගිනි ස්වභාවයක් තියෙන්නෙ. සං සාරයි කියල අවිද්‍යාවෙන් ගත්තෙ ද්වේශ ජාතිය හොඳ දෙයක් හැටියට සළකල. රෞද්‍ර බව නිසා කටුක දුක් ඇති යක්ෂ අත්බැව්, ගිනි අපාය වගේ තැන්වල උපදින්න සිද්ධ වෙනවා.

මේ කටුක දුක් ගිනි ස්වභාවයට හේතුව දැන ගත්ත ආර්ය ශ්‍රාවකයා, කාන්තාරයක් වගේ දුක් දෙන ද්වේශයෙන් මිදෙන්න ඇත්නම් කොච්චර හොඳද කියල හිතනවා. සියලු ලෝක සියලු සත්ත්වයොත් මේ සංසාර කතරෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර කතරෙන් මිදෙත්වා, මේ සංසාර කතර හට ගත්තෙ ජාති නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ ජාතියෙන් මිදෙත්වා කියල පතනවා.

සං සාරයි කියල අවිද්‍යාවෙන් නිගමනය කරල කරගෙන ගිය වැඩ පිළිවෙළේ ප්‍රතිඵලය දැනගෙන හිටියෙ නෑ, ඒකෙ මුව හාවෙලයි තිබුණෙ. මෝහය නිසා ඇත්ත දැක්කෙ නෑ. මුව+හා වුනොත් ඇතුලෙ තියෙන දේ පේන්නෙ නෑ. ඒ නිසා මෝහය අන්ධකාරයක්. සසර ගමනේ බියකරු බව දකින්නෙ නැති නිසා ලෝක සත්වයා පව් කරන්න බය නෑ. විපාකය නිසා මුව හාවෙලයි තියෙන්නෙ. වැරදි පාප දුෂ්චරිත වැඩ, දස අකුසල් කරනවා. ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස සියලු දුක් ගිනි මුව හාවෙලා අන්ධකාරයේ තිබුණෙ. ඒ නිසා අනන්ත සසර ගමනක දුක් ගිනි විඳිනවා. මේ දුක් ගිනි විඳින මෝහාන්ධකාරයෙන් මට නිදහස් වෙන්න ඇත්නම් කොච්චර වටිනවද, මම වගේම සියලු ලෝක සියලු සත්ත්වයොත් මේ සංසාර අඳුරෙන් මිදෙනව නම් කොච්චර හොඳද කියල ආර්ය ශ්‍රාවකයා හිතනවා. ඒ වගේම මේ අනන්ත සසරෙදි ලෝක සත්වයාට මගේ අතින් වැරදි අසාධාරණකම් හිංගි හිංසා සිද්ධ වෙන්න ඇති, ඒ අයත් මේ වෙනකොට කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන මේ තුන් ලෝකයේ කොතැනක හෝ ඇති, ඒ නිසා මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ සංසාර අඳුරෙන් මිදෙත්වා, මේ සංසාර අඳුර හට ගත්තෙ අනන්ත අප්‍රමාණ ජාතිවල ඉපදිලා වින්ද ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස ගිනි කඳන් දැක්කෙ නැති නිසානෙ, මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ගෙන් මිදෙත්වා කියල පතනවා.

**ඩබ්. ඒ. තිළිණාවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත - 011 2901508**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 2

වස විස ගැන කතා කරන කොට බොහෝ පැතිකඩවල් තියෙනවා. ඒවායින් කන බොන ආහාර ප්‍රධානයි. ඊට අමතරව විවිධ කර්මාන්ත ආශ්‍රිතවත්, ගෘහාශ්‍රිත පළිබෝධ නාශක විදිහටත් වස විස භාවිතා වෙනවා. කොහොම හරි ආහාර නිෂ්පාදනයත්, කර්මාන්ත ක්ෂේත්‍රයත් ගත්තම ලෝකයේ බහුල වශයෙන්ම වස විස භාවිතා කරන ප්‍රදේශය විදිහට දකුණු ආසියාව ඉදිරියෙන් සිටිනවා. ඒ අතර ලංකාවත් ප්‍රධාන තැනක් ගන්නවා.

මොකද අපිට තිබිච්ච බුදු දහම හා සම්බන්ධ පැරණි ධර්මානුකූල ක්‍රම යටපත් වෙලා ගියාම, අධික තණ්හාව නිසා වැඩි ලාභ බලාපොරොත්තුවෙන් විදෙස්-වලින් එන ඕනම කුණු ගොඩක් කරපින්න ගන්න තත්වයට අපේ රට පත් වුණා. එදා තිබිච්ච හරවත් ක්‍රම රටාව දහමත් එක්කම උඩු යටිකුරු වෙලා ගියා. අන්තිමට ඉඳිකටු තුඩේ පටන් පරිහරණය කරන හැම දෙයක්ම පිට රටින් ගෙනත් අපි නිකං උඩ බලාගෙන ඉන්න තත්වයට පත් වුණා. විදෙස් රටවල් හඳුන්වා දෙන හැම දහජරාවක්ම ඉවක් බවක් නැතිව පිළි අරගෙන පරිහරණය කරන නිකමුන් බවට පත්වුණා. අන්තිමට ඒ දහජරාව අපේ රටේම නිෂ්පාදනය කරන තත්වයටත් ඇතැමුන් පත් වුණා.

දැන් ඉතින් මේ ගැන කතා කරනව නම් කෙළවරක් නෑ. කොහෙන් පටන් ගන්නද? සියල්ල උඩු යටිකුරු වෙලා නූල් බෝලයක් වගේ පැටලිලා තියෙන්නෙ. උදේ නැගිට්ට වෙලේ ඉඳන් මිනිස්සුන්ට මෙලොව සිහියක් නෑ. සල්ලි පස්සෙමයි දුවන්නෙ, එකෙක් පරයා තවෙකෙක් පළවෙනිය වෙන්නමයි බලන්නෙ. මේ අධික තරඟ කාරිත්වයෙන් මුලා සහගත ජයක් ලබන්න කියල හිතාගෙන, ධර්මානුකූල රාමුවෙනුත් පිට පැනල පහත් නීච වැඩ කරන්න පටන් ගත්තම, ඒකෙ එක ප්‍රතිඵලයක් තමයි මේ සීමා රහිත වස විස භාවිතය සහ මාරාන්තික ලෙඩ රෝග.

විශේෂයෙන් කෘමි නාශක, රසායනික පොහොර, වල් නාශක භාවිතයෙන් පොළොව නිසරු වෙච්ච හැටිත්, මනුස්සයාට මාරාන්තික ලෙඩ රෝග හැදෙන මට්ටමට ආහාර විස වෙච්ච හැටිත් පසු ගිය කලාපයෙන් යම් පමණකට විග්‍රහ කළා. ඊට අමතරව මැසි මදුරුවන්, කැරපොත්තන්, මීයන් ආදී ගෘහාශ්‍රිත සතුන් විනාස කරන්න භාවිතා කරන විවිධ පළිබෝධ වර්ගත් අද ඉවක් බවක් නැතිව පාවිච්චි කරනවා. දැන් මේ සියල්ලේම තවත් බිහිසුනු ප්‍රතිඵලයක් තමයි ජලය විස වීම.



කෘෂිකාර්මික ප්‍රදේශවලත්, නාගරික ප්‍රදේශවලත් මේ ජලය විස වීමේ ප්‍රතිඵල අද වෙන කොට ජනතාවට අත් විඳින්න සිද්ධ වෙලා තියෙනවා. සමහර ප්‍රදේශවල ජලයේ මේ වෙන කොටත් බැර ලෝහ තියෙන බවට සොයාගෙන තියෙනවා. ඒ වගේම කර්මාන්ත ශාලාවලින් ඉවතලන තෙල්, රෙදි වර්ණ කරන්න ගන්න ඇසෝ වර්ණක වගේම කෘමි නාශක හා වල් නාශක ආදී විස ද්‍රව්‍ය මේ ජලයට එකතු වෙනවා. ජල පවිත්‍රාගාරවලින් එන නළ ජලයේ, පිටින් පේන අපද්‍රව්‍ය පිරිපහදුවට ලක් වුණත්, සියුම් විස පෙරීමක් සිද්ධ වෙන්නෙ නෑ. සමහර අවස්ථාවල නාගරික නළ ජලය රත් කරල ටික වෙලාවක් ගියාට පස්සෙ සියුම් පටලයක් ඒ ජලය මතු පිට බැඳිල තියෙන බව හොඳින් පරීක්ෂා කරන කොට දැක බලාගන්න පුළුවන්. සමහර අවස්ථාවල ජල කරාමවලට පෙරහන් කඩක් ගැටගහල තියෙන අවස්ථාවල, සති දෙක තුනක් යන කොට ඒවායේ බැඳෙන අපද්‍රව්‍ය තට්ටුව පියවි ඇහින්ම දැක බලා ගන්න පුළුවන්.

ඉතින් ඒ වගේ ජලය සියුම් පෙරීමකට ලක් නොකර සෘජුවම පානය කිරීමෙන් ශරීරගත වන වස විස ප්‍රමාණය ගැන අමුතුවෙන් කියන්න ඕන නෑ. නමුත් ඒවා ගැන කවුරුවත් හොයන්නෙ බලන්නෙ නෑ. නාගරික ප්‍රදේශවල සියලු ආහාර පාන පිසින්න සෘජුවම භාවිතා කරන්නෙ ඒ නළ ජලය. විශේෂයෙන් තේ වගේ පානයන් සඳහා මේ ජලය සෘජුවම දිනපතා භාවිතා කිරීමෙන් සැලකිය යුතු විස ප්‍රමාණයක් මිනිස් ශරීරයට එකතු වෙනවා. නාගරික ප්‍රදේශවල ආපන ශාලා ගත්තත් ඒවායින් ආහාර ගන්න ජනතාවට සෘජුවම මේ නළ ජලය තමයි පානය කරන්න සිද්ධ වෙලා තියෙන්නෙ. ජල පෙරනයකින් පිරිපහදුවට ලක් කරපු වතුර බිඳක් ලබා දීමක් ආපන ශාලාවලින් කරන්නෙ නෑ. තමන්ගෙ බඩ ගෝස්තරය ගැන විතරක් හිතල කටයුතු නොකර, අඩු ගානෙ සාමාන්‍ය ජල පෙරනයක් හෝ සවි කරල තියන්න තරම් යුතුකමක් තියෙනවා. ඒ නිසා විශේෂයෙන් තමන්ම උනන්දු වෙලා නළ ජලය සෘජුවම පානයට නොගෙන, අද තියෙන හොඳ ජල පිරිපහදු යන්ත්‍රයක් පාවිච්චි කරල හෝ පැරණි ක්‍රමවේදයකට අනුව හෝ පෙරාගන්නව නම් ජලය හරහා ශරීරගත වන වස විස ප්‍රමාණය අවම කර ගන්න පුළුවන්.

වස විස ගැන කතා කරන කොට අද **තවත් භයානක පැත්තක් තමයි ආහාරවලට යොදන කෘතීම රස කාරක, වර්ණ කාරක, පිපුම් කාරක හා කල් තබා ගැනීමේ කාරක. මේවා නිසා පිළිකා, අංශභාගය, ස්නායු ආබාධ ඇතුළු නොයෙක් ලෙඩ රෝග ඇති වෙනවයි කියන කාරණය අද බොහෝ දෙනෙක් ප්‍රසිද්ධියේ කතා කරන්නෙ නෑ, ඒ ගැන හොයා බලන්නෙ නෑ.** ඒ ගැන තියෙන දැනුවත්භාවය බොහොම අඩුයි. මොකද අද පරිභෝජනය කරන 90% කටත් වඩා ක්ෂණික ආහාර පානවලට මේ කෘතීම රසායන කාරක යොදන නිසා ඒවා නිෂ්පාදනය කරන කුඩා නිෂ්පාදකයින් ඒ ගැන කතා කරන්න තියෙන

අවස්ථා මුදල් බලයෙන් බොහෝ කොටම යටපත් කරල තියෙන්නෙ. ඒවා ගැන ප්‍රචාරය කරන මාධ්‍ය ආයතනත් තමන්ට වෙළඳ දැන්වීම් නොදෙයි කියන බයට ඒවාට විරුද්ධ වෙන්නෙ නෑ.

අනෙක් පැත්තෙන් "අනුමත වර්ණ කාරක/රස කාරක/ පිපුම් කාරක/ කල් තබා ගැනීමේ කාරක" කියන ලේබලයට මුවා වෙලා ඒ කාරණය වසන් කරනවා. ඒත් මෙතැනදි **"අනුමත" කියන්නෙ ඒවායින් හානියක් වෙන්නෙ නෑ කියන එක නෙවෙයි. එක පාරටම මනුස්සයෙක් ලෙඩ කරන්න, මරන්න තරම් ප්‍රබල නෑ කියන එක විතරයි.** නමුත් මේ වෙන කොට රටේ ලෝකයේ මනුස්සයින් පරිභෝජනය කරන ආහාර වර්ග ගැන සෝදිසි කරල බැලුවොත්, මේ කියන කෘතීම රසායන කාරක යොදපු ආහාර වර්ග තමයි වැඩි හරියක් පරිභෝජනය කරන්නෙ. එතකොට දිනපතා, සතිපතා, මාස් පතා, අවුරුදු පතා මනුස්සයින් පරිභෝජනය කරන ආහාර ගත්තම, මෙච්චර කාලයක් පරිභෝජනය කරල තියෙන්නෙ මේ කියන කෘතීම රසායන කාරක හෙවත් වස යොදපු ආහාර. දවසින් දෙකෙන් ලෙඩ නොවුණට ඒවා දිගු කාලයක් තිස්සෙ ශරීරයේ එකතු වෙලා තමයි අද තියෙන ලෙඩ රෝගවලින් බොහොමයක් හට ගන්න එක හේතුවක් වෙලා තියෙන්නෙ. ඒකෙ ප්‍රතිඵලයක් විදිහට අද වෙන කොට කිසියම් හෝ විශේෂ රෝගාබාධයකින් පීඩා විඳින්නෙ නැති කෙනෙක් හොයා ගන්න බැරි තරම්. එහෙම නැත්නම් ඒ විදිහෙ ලෙඩ රෝග තිබුණත් හරියට හඳුනගෙන නෑ. මේ කෘතීම රසායන කාරක නිසා වන බලපෑම ගැන ප්‍රසිද්ධියේ කතා කරන්නෙ නෑ.

සමහර විට මේ රසායන කාරකවල මනුස්සයින්ගෙ ශරීරයට අහිතකර නොවන යම් යම් සීමාවන් තියෙන්න පුළුවන්. නමුත් ඒකත් සීමාවක් මිසක් හොඳ එකක් නෙවෙයි. ස්වභාවික වර්ණත් එක්ක කොහෙත්ම ගලපන්න බෑ. මේවායේ අහිතකර නොවන මට්ටමේ සීමාවක් තියෙයි කිව්වත්, දවස ගානෙ මේ වගේ ආහාර පරිභෝජනය කිරීම නිසා ඒ සියලු විස ශරීරයේ එකතු වෙලා මනුස්සයා නොදැනුවත්වම අර සීමාව පනිනවා. අන්තිමට රටේ ලෝකෙ නැති ලෙඩරෝග ඉවරයක් නෑ.

මනුස්සයෙක් ප්‍රධාන වශයෙන්ම ආහාර ගන්නෙ කුසගින්න නිවාගන්න. ඊට අමතරව සාමාන්‍ය ලෝකයා රස පිණිසත්, නොයෙක් කෙලිලොල් පිණිස කාය ශක්තිය ලබා ගන්නත් ආහාර ගන්නවා. නමුත් ආහාරයේ රසය හා පෝෂණ ශක්තිය විතරක් බලන්නෙ නැතිව, ආහාරයේ වර්ණයටත්, සුවඳටත් රැවටිලා ඒ වර්ණය නිසා, සුවඳ නිසා ආහාර ගන්නව නම් ඒක මහා මෝඩකමක්. මොකද දිවෙන් මිසක් ඇස් දෙකෙන් හෝ නාසයෙන් ආහාරයක රස විඳින්න බෑ. රසය ගෝචර වෙන්නෙ දිවට. එතකොට පිට ඔපයට රැවටිච්ච මිනිස්සුත් ඕන තරම් ඉන්න නිසා තමයි, කෘෂි නිෂ්පාදකයො විවිධ වර්ණක යොදල ආහාර නිෂ්පාදනය කරන්න පෙළඹිලා තියෙන්නෙ. විශේෂයෙන් පොඩි ළමයි ප්‍රිය කරන පැණි රස කෑමවල මේ




තත්වය බහුලවම තියෙනවා. නමුත් රසයට, පිට ඔපයට ගිජු නොවී ආහාර ගන්න පුරුදු වුනා නම් මේ කිසි ප්‍රශ්නයක් නෑ. අනෙක ආහාරයක් කිව්වම කොහොමත් ඒකෙ මූලික වශයෙන්ම ප්‍රියමනාප රසයක්, සුවඳක් තියෙනවා. ඒ තියෙන රසයෙන් සෑහීමට පත් වුනා නම් අමුතුවෙන් කෘතිම රසකාරක අවශ්‍ය වෙන්නෙ නෑ. ඊටත් වඩා ඒවායින් අනාගතයේ විඳින්න සිද්ධ වෙන භයානක ලෙඩ රෝගවල ස්වභාවය දකින්න ඕන. ඉතින් බුදු දහමෙ තියෙන හරය යටපත් වෙලා, වෙන වෙන ඒවා මතු වුණාම මේ තරම් මිනිස්සු ඇන්දෙන්න ඒකත් ලොකු හේතුවක් වුණා. මේ ලෝකයේ තියෙන අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය වසන් කළාම මිනිස්සු ගොනාට අන්දන්න හරි ලේසියි.

එතකොට මේ වර්ණක යොදල ආහාර නිෂ්පාදනය කරනකොටත් ඒ අය එක්තරා උපක්‍රමයක් යොදනවා. ආහාරයේ තියෙන අන්තර්ගතය පිට අසුරනයේ සඳහන් කරන කොට, ඒකෙ රසායනික නම සඳහන් කරන්නෙ නැතිව ඉංග්‍රීසි අක්ෂරයක් එක්ක අංකයක් යොදනවා. මොකද ඒ රසායනික නම සඳහන් කළා නම්, ලෝකයේ සම්මත විද්‍යාව දන්න අය ඒක වහ කියල දැන ගන්නවා. ඒ කාරණය වසන් කරන්න ජාත්‍යන්තරව පිළිගත් අංකකරණයක් කියල අර විදිහට යොදනවා. නමුත් ඔය වැල් වටාරම් නැතිව නම සඳහන් කළා නම් සම්මත විද්‍යාව ඉගෙන ගත්ත අය දැන ගන්නවා මේකෙ තියෙන්නෙ මෙහෙම දෙයක්, මේකෙ ස්වභාවය මේකයි, මිනිස් ශරීරයට අහිතකරයි කියල. ඉතින් ඕක සඳහන් කරන්න බැරි තරම් දිග එකක් නෙවෙයි. නමුත් දැන ගත්තොත් ඒ අයට පාඩු වෙන නිසා ඒක කරන්නෙ නෑ. දැන් ඉතින් E 108, E 109, E 471, INS 500... ආදී වශයෙන් සඳහන් කළාම, ඕක නොතේරෙන නිසා මිනිස්සු ඒ ගැන හොයන්නෙ බලන්නෙ නෑ. මොකද මිනිස්සු කන්න බොන්න ගියාම ඕව පස්සෙ පන්නගෙන ගිහින්, අන්තර්ජාලය බලල නම හොය හොයා ඉන්නෙ නෑ, කාගෙන්වත් අහන්න යන්නෙ නෑ. නමුත් රසායනික නම සඳහන් කළා නම් දන්න කෙනා ඒකෙ ප්‍රතිඵලය දැනගෙන අනෙක් අයත් දැනුවත් කරනවා. ඒක කරන්නෙ නැතිව මිනිස්සු මංමුලා කරනවා.

උදාහරණ විදිහට E 122, E 124, E 142, E 102, E 110 කියන්නෙ ආහාර සඳහා බහුලව භාවිතා කරන වර්ණකාරක කිහිපයක්. මේවායේ රසායනික නම් තමයි කාමොසීන්, පොන්සීන් 4 R, ග්‍රීන් එස්, ටාට්‍රසින්, සන්සෙට් යෙලෝ කියන්නෙ. මේ අංක හැර තවත් අංක සඳහන් බොහෝ රසායන කාරක තියෙනවා. මේවා ලෝක සම්මතයේ අනුමත වෙලා තිබුණත් ඒවා පිළිකා ඇතුලු බොහෝ රෝගයන්ට අත වනනවා. අද වෙන කොට මේවා සුලභව අයිස් ක්‍රීම්, ජෑම් වර්ග, කෝඩියල්, සෝස් වර්ග, මාගරින් වර්ග, චීස් වර්ග, නූඩ්ල්ස්, සිසිල් බීම වර්ග, ජෙලි වර්ග, යෝගට්, බිස්කට්, කේක්... ආදී බොහෝ ආහාරවල දකින්න තියෙනවා. මේ එකක්වත් ශාකවලින් ලබා ගන්න ස්වභාවික වර්ණ කාරක නෙවෙයි. ස්වභාවික වර්ණක නම් කිසි ගැටළුවක් නෑ. උදාහරණ විදියට බීට් අලවල තියෙන වර්ණකය ස්වභාවිකයි. නමුත් රසායනාගාර තුළ කෘතීමව නිෂ්පාදනය කරන වර්ණක තමයි මේ බොහෝ ආහාර

පාන සඳහා යොදා ගන්නෙ.

එතනදිත් අනුමත වර්ණක කියල සඳහන් රසායන කාරක වගේම අනුමත නොවන ඒවත් ආහාරවලට යොදනවා. ඒවා අධික විසයි. සමහර කෑම නිෂ්පාදකයො ඊට අමතරව විවිධ රෙදි වර්ණක, කුකුල් සායම් වර්ග ආහාර වර්ණ ගන්වන්න යොදා ගන්නවා. විශේෂයෙන් සමහර ආහාර වර්ග අනුභව කරල කෙළ ගහන කොට ඒ වර්ණක දිය වෙලා තියෙනව දැක ගන්න පුළුවන්. ඒවා අධික විසයි. ඉතින් මේ වගේ විස වර්ණක අද වෙන කොට තේ, කෝපි ආදිය වර්ණ ගන්වන්නත් යොදා ගන්නවා. විශේෂයෙන් වෙළඳපොළේ තියෙන කසල තේ කොන්ඩිස්වලින් (පොටෑසියම් ප'මැංගනේට්) වර්ණ ගැන්වූ අවස්ථා තියෙනවා. ඒවා මිනිස් සිරුරට බොහෝ අහිතකරයි. ඒවා දීර්ඝ කාලීනව පිළිකා වගේම විවිධ ආබාධ ඇති කරන්න හේතු වෙනවා. **සමස්ථයක් විදිහට මේ සියලු රසායන කාරකවල ප්‍රතිඵලය ගත්තොත් පිළිකා, ඇදුම, ආසාත්මිකතාව, මානසික අවපීඩනය, ගබ්සා වීම්, බෙලහීනතාව, ඇස්වල දුර්වලතා, ඉරුවාරදය, චර්ම රෝග ඇතුලු රෝග රාශියකටත්, ප්‍රතිශක්තිකරණ පද්ධතියේ විවිධ දුර්වලතා ඇති කරන්නත් හේතු වෙනවා.**

ඊළඟට වර්ණ කාරක, රස කාරක මදිවට කල් තබා ගැනීමේ කාරකත් ආහාරවලට යොදනවා. දැන් සාමාන්‍යයෙන් එළකිරි ටිකක් අමුවෙන් තිව්වොත් දවසක් යනකොට නරක් වෙනවා. නමුත් කල් තබා ගැනීමේ කාරක යොදල සති, මාස ගණන් තියා ගන්නවා. නැත්නම් ඔච්චර කල් තියාගන්න බෑ. ඉස්සර ගමේ දර පෝරණුවක හදන පාන් ගෙඩියක් ගත්තම දවසයි තියාගත්තෙ. නමුත් දැන් විශේෂයෙන් සුපිරි වෙළඳසැල්වල තියෙන පාන් සති දෙක තුන තියා ගන්නවා. අන්තර්ගතය බලන කොට අර කියන කල් තබා ගැනීමේ කාරක (E 470, E 471...) දාල තමයි මෙච්චර කාලයක් තියා ගන්නෙ. ඊට අමතරව කෘතීම පිපුම් කාරකත් යොදනවා. ඒවත් විසයි.

ඊළඟට වියළි කිරි පිටි ගත්තම විදෙස්වලින් එන කිරි පිටිවල මේ කෘතීම රසායන කාරක වැඩියි. මොකද ඒවා පහසුවෙන් ජලයේ දිය වෙනවා. නමුත් අපේ රටේ හදන දේශීය කිරි පිටි සාමාන්‍යයෙන් එක පාරටම ජලයේ දිය වෙන්නෙ නෑ, කැටි ගැහෙන්න බලනවා. මොකද කිරිවල සාමාන්‍ය ස්වභාවය ඒකයි. මේ කියන රසායන කාරක පහසුවෙන් ජලයේ දියවෙනවා, කල් තියා ගන්න පුළුවන්. ඊට අමතරව මෙලමයින් කියන රසායනය දැම්මම නයිට්‍රජන් වැඩි වෙලා ප්‍රෝටීන් වැඩි බවක් පෙන්නුම් කරනවා. නමුත් ඇත්තටම ප්‍රෝටීන් වැඩි වීමක් නෙවෙයි වෙන්නෙ රැවටීමක්. නයිට්‍රජන් වැඩි වුණාම විසයි. ඉතින් කිරි පිටිවලට දැම්මම නයිට්‍රජන් වැඩි වීමට අමතරව ධාරිතාවත් වැඩි වෙනවා. ඉල්ලුමට සරිලන සැපයුම තියෙන්න ඕන නිසා කිරි පිටි ධාරිතාව වැඩි කර ගන්නත් සමහරු මේ රසායනය යොදනවා. ඒ වගේ විවිධ රසායන කාරක මිශ්‍ර කිරි පිටිවලින් තමයි අද තියෙන බොහොමයක් අයිස්ක්‍රීම් වර්ග නිෂ්පාදනය කරන්නෙත්.





නමුත් අපේ රටේ මිනිස්සු වැඩියෙන්ම පරිභෝජනය කරන්න පුරුදු වෙලා තියෙන්නෙ මේ වගේ කෘතිම රසායන කාරක මිශ්‍ර වෙච්ච ආනයනික කිරි පිටි මිසක් වස විස අඩු දේශීය කිරි පිටි නෙවෙයි. මොකද දේශීය කිරි පිටි දිය කරන කොට කැටි ගැහෙනවා. නමුත් කැටි ගැහෙන්නෙ නැතිව හදන්න පුළුවන් ක්‍රම තියෙනවා. අර පරණ තේ කඩවල හිල් හදපු කෝප්පයක කූරක් තියෙනවා. තේ හදල ඕකෙන් ගැහුවම අර කැටිය සම්පූර්ණයෙන් කුඩු වෙලා දියවෙනවා. නමුත් ඒ වගේ දෙයක් කරන්නෙ නැතිව පහසුවෙන් දියවෙනව කියල අර වගේ රසායන කාරක මිශ්‍ර ඒවා භාවිතා කරනවා. අනිත් කාරණය, ජනමාධ්‍යවලින් වෙළඳ දැන්වීම් හරහා වැඩිපුර ප්‍රචාරය කරන්නෙත් විදෙස්වලින් ආනයනය කරන කිරි පිටි නිසා මිනිස්සුන්ගෙත් ඒවාටම ප්‍රිය කරන අමුතු මානසිකත්වයක් හැදිල තියෙනවා. මොකද ඉතින් ජනප්‍රිය පුද්ගලයො යොදාගෙන ඔය වගේ වෙළඳ දැන්වීම් නිතර නිතර ප්‍රචාරය කළාම, අහවල් රටේ නිෂ්පාදනය කළයි කිව්වම මිනිස්සු ලේසියෙන් ඇන්දෙනවා. නමුත් ඇත්තම කතාව නම්, සාපේක්ෂව ගත්තම දේශීය කිරි පිටි විදෙස් රටවල ඒවාට වඩා ශරීර සෞඛ්‍යය අතින් යම් ප්‍රමාණයකට හොඳයි. නමුත් අර වගේ භෞතික ප්‍රශ්න නිසා මිනිස්සු ඒවා මිලදී ගන්නෙ නෑ. පහසුවෙන් දියවෙනව කියල වැඩි වියදමක් දරල සෞඛ්‍ය ආරක්ෂිත බවින් අඩු කිරි පිටි භාවිතා කරනවා. හැබැයි එතනදිත් වියළි කිරි පිටිවලට වඩා ජීවානුහරණය කළ දියර කිරි තමයි වඩා හොඳ.

ඉතින් මේ වර්ණ කාරක, රස කාරක... ගැන කතා කරන කොට අද අපේ රටේ විශේෂයෙන් නාගරික ප්‍රදේශවල අය බහුලවම කන්නෙ බොන්නෙ මේ රස කාරක යොදපු ආහාර. කොළඹ වගේ නාගරික ප්‍රදේශයක හැන්දෑවෙ හයෙන් පස්සෙ සාමාන්‍ය එළවළු ව්‍යංජනයි බතුයි කන්න පුළුවන් කඩයක් ලේසියෙන් හොයා ගන්න නෑ. ඔක්කොම කඩවල තියෙන්නෙ ෆ්‍රයිඩ් රයිස්, කොත්තු... ආදී වශයෙන් කියන කෘතීම රස කාරක යොදපු විදෙස් කෑම වර්ග. මොකද පිටරටවල උදවිය සෑහෙන කාලයක් පරීක්ෂා කරල බලල, දිව උපරිමයෙන් පිනවන රසකාරක සකස් කරනව මිසක් මනුස්සයින්ගෙ ශරීර සෞඛ්‍යය ගැන බලල ඒවා සකස් කරන්නෙ නෑ. ඉතින් වැඩි ලාභයක් ලැබෙන නිසා වෙළෙන්දොත් ඒ ජාතියේ ආහාරම තමයි හදන්නෙ. හැබැයි ඒවාට දාන තරමක් දාන්නෙ මේ කෘතීම රසකාරක. සෝස් වර්ග දැම්මත් එහෙමයි. ස්වභාවිකයි කියල කිව්වත් විවිධ රස කාරක, වර්ණ කාරක දාල තියෙන්නෙ. අන්තර්ගතය පරීක්ෂා කරන කොට ඒ බව පැහැදිලි වෙනවා. දිවට දැනෙන තද රසය නිසා මිනිස්සු ඒවාට පහසුවෙන් ඇබ්බැහි වෙනවා. ඉතින් දිනපතා මේ වගේ ආහාර අනුභව කළාම මාරාන්තික ලෙඩ රෝග හැදෙන එක අහන්න දෙයක්ද?

අනෙක් කාරණය තමයි මේ කෘතිම රස කාරක/වර්ණ කාරක යොදා නොගෙන ආහාර නිෂ්පාදනය කරන්න බැරිකමක් නෑ. ඉස්සර හිටපු මිනිස්සු ඕවා පාවිච්චි කළේ නෑ. කහ, මිරිස්, ගම්මිරිස්, සුදු ළූණු, ගොරක වගේ තුනපහ තමයි රසකාරක වෙනුවට භාවිතා කළේ. මේ අවුරුදු 50-60 ක් වගේ මෑත කාලයක

තමයි මේ කෘතිම රසායන කාරක වසංගතයක් විදිහට යොදා ගන්න පෙළඹිලා තියෙන්නෙ. මිනිස්සු මරල හරි වැඩියෙන් සල්ලි හම්බ කරන්න තියෙන දැඩි කෑදරකම නිසාමයි කෑම නිෂ්පාදකයො මේ වගේ දේවල්වලට පෙළඹිලා තියෙන්නෙ.

ඉතින් මේ ආහාරවල තියෙන කෘතිම රස කාරක/වර්ණ කාරකවල භයානකත්වය ගැන අඩුවෙන් කතා කරන කාලයක, හැමෝගෙම දැන ගැනීම පිණිසයි, ආරක්ෂාව පිණිසයි මේ වගේ කරුණු හෙළිදරව් කිරීමක් කරන්නෙ. මේ දැනුවත් වීම් තුළින් ඔබ වෙළඳපොළට ගිහින් මිලදී ගන්නා ඕනෑම ඇසුරුම් කරපු ආහාරයක අඩංගු දෑ (Ingredients) අතර මේ කියන කෘතිම වර්ණ කාරක/රස කාරක/කල් තබා ගැනීමේ කාරක තියේද කියල පහසුවෙන් ඔබටම සොයා ගන්න පුළුවන්. එහෙම තියේ නම් ඒවා මිලදී නොගෙන ප්‍රතික්ෂේප කරන්නත් ඔබට පුළුවන්. එතකොට කෙනෙක් කියන්න පුළුවන්, ඔය කියන වස විස නැති ආහාර හොයන්න ගියොත් කිසිම දෙයක් කන්න බොන්න වෙන්නෙ නෑ, ඒ නිසා තියෙන දෙයක් කාල බීල ඉන්නව හැර මේව නවත්වන්න බෑ කියල. කාරණය ඇත්ත. හැබැයි හැම කෙනෙක්ම එහෙම හිතන්න ගියොත්, නිෂ්පාදකයින්ට ඕන ඕන විදිහට, නිෂ්පාදනය කරන ඕන වහක් ඒ අයට අවනත වෙලා කන්න බොන්න සිද්ධ වෙනවා. එහෙම වුණොත් කවදාවත් මේ වසංගතය ඉවර වෙන්නෙ නෑ. ලෙඩ රෝගවලින්ම දුක් විඳල මැරෙන්නයි වෙන්නෙ.

අනෙක මේ කෘතිම රස කාරක/වර්ණ කාරක යොදපු ආහාර වර්ග බොහොමයක් අත්‍යවශ්‍ය ආහාරත් නෙවෙයි, රස තෘෂ්ණාව පිණිස සකස් කරපු අතිරේක ආහාර පාන. උදාහරණ විදිහට මේ වෙනකොට වෙළඳපොළේ ප්‍රසිද්ධ බොහොමයක් කෘතීම සිසිල් බීම වර්ගවල මේ කියන වර්ණ කාරක/රස කාරක බහුලව අඩංගු වෙනවා. ඒ රසයට/වර්ණයට ඇබ්බැහි වෙලා ඒවා දිගටම පානය කරන්න බොහොමයක් උදවිය පුරුදු වෙලා ඉන්නවා. සමහරු පුරුද්දක් විදිහට ප්‍රධාන ආහාර වේලකින් පසු වතුර වෙනුවට පානය කරන්නෙත් මේ වගේ ප්‍රසිද්ධ සිසිල් බීම වර්ග. නමුත් මේ සමහර කෘතීම සිසිල් බීම වර්ගවල දතක් දම්මොත් පැය විසි හතරකින් දත දිය වෙන බවත් අත් හදා බලල තියෙනවා. ඒ වගේම වැසිකිලි පවිත්‍රකාරකයක් විදිහටත්, වාහනවල මළ කෑ ඇණ මුරිච්චි ආදිය ගැලවීම පහසු වෙන්නත් මේ සමහර කෘතීම බීම වර්ග යොදා ගන්න පුළුවන් බව මේ වෙන කොට ඔප්පු වෙලා තියෙනවා. එතකොට ඒවා මනුස්ස පරිභෝජනයට කොච්චර අහිතකරද කියන කාරණය ගැන හිතල බලන්න. ඉතින් මේ වගේ කෘතීම වස විස යොදපු පානයන් වෙනුවට පිරිසිදු වතුර වීදුරුවක්, තැඹිලි ගෙඩියක්, බෙලිමල් කෝප්පයක්, ස්වභාවික පළතුරු යුෂ වීදුරුවක් වගේ දෙයක් පානය කරල පිපාසය සංසිඳවා ගැනීම තමයි මොළයක් බුද්ධියක් තියෙනව නම් කරන්න ඕන. ඒ වගේම තමයි මේ කෘතීම රස කාරක, වර්ණ කාරක... අඩංගු බොහොමයක් බිස්කට්

## THE DANGER LIST

| Additive | Where used | Potential problems |
|---|---|---|
| E102 - tartrazine | Sweets, biscuits, mushy peas | Hyperactivity, asthma, rashes |
| E124 - ponceau 4R | Sweets, biscuits, drinks | Allergy, intolerance |
| E110 - sunset yellow | Sweets, ice cream, drinks | Gastric upset, allergy |
| E122 - camoisine | Biscuits, jelly, sweets, ready meals | Allergy, intolerance |
| E104 - quinoline yellow | Sweets, smoked haddock, pickles | Hyperactivity, asthma, rashes. |
| E129 - allura red | Soft drinks, cocktail sausages | Some evidence of hypersensitivity |
| E211 - sodium benzoate | Soft drinks, baked goods, lollies | Hyperactivity; asthma |



වර්ග, අයිස්ක්‍රීම් වර්ග, කෘතීම පැණි රස කෑම කියන්නෙත් අත්‍යවශ්‍ය ආහාර නෙවෙයි. ඒවා නොකෑවයි කියල හාමතේ මැරෙන්නෙ නෑ. කන්න බොන්න තවත් ආහාර වර්ග ඕන තරම් තියෙනවා. ඒත් අර වගේ කෘතීම කෙටි කෑම බීමවලට තමයි බොහොමයක් උදවිය පෙළඹිලා තියෙන්නෙ.

ඊළඟට මේ ලෙඩ රෝග හදන තවත් කාරණයක් තමයි බත් ඔතන්න ගන්න ඉටි කොළ. ප්‍රමිතියෙන් තොරව හදපු ඉටි කොළවලට උණුවෙන් බත් දාල එතුවම ප්‍රතික්‍රියා කරල විස රසායනික සංයෝගයක් හැදෙනවා. ඒක ආහාරයට උරා ගන්නවා. ඉතින් කාලයක් ගණකම ඉටිකොළ භාවිතා කරන්න නීති පනවල තිබුණත්, දැන් හැම තැනම කිසිම ප්‍රමිතියකින් තොරව ඉතා තුනී ඉටිකොළ පාවිච්චි කරන නිසා කන බොන ආහාරවලට තවත් විස රසායන එකතු වෙනවා. ඒ වගේම ආහාර වර්ග උණුවෙන් ඔතල දාන කෘතීම ක්ෂණික ආහාර පෙට්ටිත් ඒ උණුසුම නිසා විස රසායන නිෂ්පාදනය කරල ඒ ආහාරවලටම එකතු කරනවා. මේ කාරණය දැන් පරීක්ෂණවලිනුත් ඔප්පු වෙලා තියෙනවා.

ඒ නිසා මේ සම්බන්ධයෙන් යම් පමණකට හෝ දැනුවත් වෙලා, වෙළඳපොළෙන් මිලදී ගන්න ආහාර වර්ග ගැන සැලකිලිමත් වෙලා, මිනිස්සු ලෙඩ කරන වෙළඳ නිෂ්පාදනවලට ප්‍රසිද්ධියේම එරෙහි වෙලා ඒවා වර්ජනය කරන්න උත්සාහ කරන්න. බලධාරීන් මේවා ගැන හොයල බලල ඒවාට නිසි පියවර ගන්නෙ නැත්නම්, උඩ බලාගෙන නිකං ඉන්නෙ නැතිව පාරිභෝගික ඔබවත් මේ වස විසට එරෙහි සටන අද සිටම පටන් ගන්න. ඒ වගේම මේ දැනුවත් කිරීම හැකි තරම් පිරිස් අතරට යවන්න.

දුර්ලභව ලැබිච්ච මනුස්ස අත්බවය ප්‍රයෝග විපත්තිවලින් අකාලයේ රෝගීව මිලින වෙන්න ඉඩ නොදී, ස්වභාවිකත්වයට නැඹුරු වෙලා දිගු කලක් නිරෝගීව ජීවත් වෙලා, උත්තරීතර මිනිස් ගුණ දම් වඩා ගෙන මෙලොව පරලොව යහපත සලසගෙන ලෝකයාටත් යහපතක් කරන්න මේ වටිනා මනුස්ස අත්භවය යොදා ගන්න. පිනක් දහමක් කරල සසරින් එතෙර වෙන්නත් ලැබිච්ච මනුස්ස අත්බවය නිරෝගීව තියෙන්න ඕන. නමුත් මේ යන විදිහට දිගටම ගියොත් ඒ ටික කර ගන්නවත් අවස්ථාවක් ලැබෙන්නෙ නෑ. හැමදාම රෝහල් ගානෙ පෝළිම්වල ඉන්න පුළුවන්. ඒ නිසා මේ දැනුවත් කිරීම ඒ සඳහා කළා මිසක්, ලෝකය අල්ල ගෙන අන්‍යයන් එක්ක සටන් කරල වෛරය ඇති කර ගන්න, තරහ ඇති කර ගන්න නෙවෙයි මේ කාරණා ටික සටහන් කළේ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සමාධිමය අත් බෙහෙත්........

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී විවිධ රෝග සඳහා සමාධියෙන් මතු කරගත් තවත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. මීට පෙරත් බෙහෙත් ලිපිවලින් සඳහන් කළා වගේ ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තියට යටත්ව මේ බෙහෙත් ප්‍රත්‍ය වීම සිද්ධ වෙන බව තේරුම් ගන්න ඕන.


















**ඉරුවාරදය ඇතුළු මොළයේ සෙම බැඳීම් දුරු කිරීම සඳහා**

මීට පෙර ඉරුවාරදයට කෙම් ප්‍රතිකාරයක් සඳහන් කළත්, ඒ ප්‍රතිකාරය ප්‍රත්‍ය නොවෙච්ච අයටත්, මොළයේ සෙම බැඳීම නිසා වෙනත් අමාරුකම්වලින් පෙලෙන අයටත් මේ බෙහෙත පාවිච්චි කරන්න පුළුවන්. මේ සඳහා අවශ්‍ය වෙන්නෙ සුදු ළූනු, රතු ළූනු, සුදු හඳුන්, කලාඳුරු අල, සතකුප්ප, මුරිසි අන්නාසි බොඩ සහ ළපටි නා දළු කියන මේවායින් කලං 3 බැගින්.

මෙතනදි සතකුප්ප කියන්නෙ සුදුරු මහදුරු වගේ, නමුත් ඊට ටිකක් රවුම් ලොකු ඇට තියෙන, බෙහෙත් බඩු වෙළඳසැල්වලින් මිලදී ගන්න පුළුවන් දෙයක්. මුරිසි අන්නාසි කියන්නෙ අනෙක් අන්නාසිවලට සාපේක්ෂව කුඩා ගෙඩි තියෙන, ඇඹුල වැඩි අන්නාසි වර්ගයක්. හැබැයි අස්වැන්න වැඩි නිසා දැන් කෑමට ගන්නත් වවනවා. මෙතනදි අන්නාසි බොඩය කියන්නෙ, අන්නාසි පඳුරේ කොළ ඇදල ගලව ගත්තම ඒ කොළ අග තියෙන සුදු පාට කොටස. ඊට අමතරව කොළ ගලව ගත්තු තැන කඳේ තියෙන සුදු පාට කොටසත් බොඩයට අයිතියි. අන්නාසි කොළ කිහිපයක් පඳුරෙන් ඇදල ගත්තම ඒ සුදු පාට බොඩ කොටස කපල වෙන්කර ගන්න පුළුවන්. හැබැයි අන්නාසි ගහ පූදින්න පෙර තමයි ඒක ගන්න ඕන. මොකද නැත්නම් බොඩය එන්නෙ නෑ.

දැන් මේ සියල්ල හොඳට අඹරල පිරිසිදු පොල් තෙල් බෝතල් තුන් කාලක් දාල සමපාකයට එනකල් හිඳගන්න ඕන. හැබැයි මෙතනදි පලපුරුද්දක් තියෙන අයට හැර අනෙක් අයට සමපාකය අඳුන ගන්න අමාරුයි. තෙල හිඳෙන කොට එක්තරා අවස්ථාවකදි තෙල් හට්ටියට ඇඟිල්ල දාන්න පුළුවන් මට්ටමක් එනවා. ඒ අවස්ථාවෙදි රස්නයක් දැනෙන්නෙ නෑ. හැබැයි බොහොම කෙටි වෙලාවයි ඒ අවස්ථාව තියෙන්නෙ. අන්න ඒ අවස්ථාව ඉක්මවා යන්න පෙර හොඳ සෝදිසියෙන් ඉඳල තෙල් හට්ටිය බාගන්න ඕන. ඒ විදිහට හිඳගත් තෙල මාසයක් පමණ හිසේ ගෑල්වීමෙන් ඉරුවාරදය ඇතුළු මොලයේ සෙම බැඳීම දුරු වෙන්න හේතු වෙනවා.




















**ආම වාතය ඇතුළු බඩේ අමාරු දුරුවීම සඳහා**

බඩේ ඇති වන වායු තෙරපීම් ඇතුළු නොයෙක් බඩේ අමාරුකම්වලින් පෙලෙන අයත් අද වෙනකොට බහුලයි. ඒ වගේ අයට පහසුවෙන් පාවිච්චි කරන්න පුළුවන් අත් බෙහෙතක් තමයි මේ. මේ සඳහා අරළු, නෙල්ලි, රත් හඳුන්, ඉඟුරු පියලි, සැවැන්දරා මුල්, කපුරු පෙති (දේවාල කෝවිල් ආදියේ දල්වන්න ගන්න බෙහෙත් කපුරු.), පෙරුන්කායම් සහ තිප්පිලි කියන මේවා සම සමව අරගෙන හොඳට කුඩු කරගෙන, ඒ සියල්ල මී පැණියෙන් අනල තිබ්බොටු ගෙඩියක් තරම් ප්‍රමාණයට ගුලි කර ගන්න ඕන. ඒ විදිහට හදාගත් ගුලි උදේ, හවස උණු දියෙන් පාවිච්චි කිරීමෙන් මේ කියන අපහසුතා දුරු වෙන්න හේතු වෙනවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 60 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

■ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ■ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඩබ්. ඒ තිළිණවතී මහත්මිය - කඩවත ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- කේ. පී. ගුණදාස මහතා - ගලපිටමඩ රු. 5,000/- සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - මෙල්බන් නුවර, ඕස්ට්‍රේලියාව - රු. 5,000/- ■ ලක්ෂිත අතපත්තු මහතා - ඉන්ටවෙට් සොෆ්ට්වෙයා ලිමිටඩ් වැල්ලවත්ත - රු.5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ තිස්ස කුමාරසිංහ මහතා, දීපා කුමාරසිංහ මහත්මිය සහ රවින්ද්‍රා කුමාරසිංහ මෙනවිය - කඩවත - රු.3,000/- ■ හෂිත මිලින්ද මහතා ඇතුළු පවුලේ සැම - කෑගල්ල - රු.3,000/- ■ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ■ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඩබ්. කේ. නලිනසේකර මහතා සහ ඩබ්. ප්‍රේමවතී මහත්මිය - වලල්ලාවිට - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - 2,000/- ■ කේ.එම්.කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා සහ කේ.එම්.කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය - මිනුවන්ගොඩ - රු.2,000/- ■ නැදිමාල ශ්‍රී සුනන්දාරාම විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පිංවතුන් - රු.2,000/- ■ අනූෂා උදයංගනී මෙනවිය - පාදුක්ක - රු.2,000/- ■ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු.2,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු.2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු.1,480/- ■ ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ රජයේ විගණන අංශය - කොළඹ - රු. 1,280/- ■ රොබට් ගීකියනගේ මහතා ඇතුලු පවුලේ සැම - හොරණ - රු. 1,100/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු.1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ■ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ■ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ අසංක සෙනරත් අඹගල මහතා - රදාවාන- රු. 1,000/- ■ සුරම්‍යා ගුණදාස මහත්මිය - රු. 1,000/- ■ එල්. ඒ. කේ ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - ඇඹුල්දෙනිය - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ගයාන් ගුණරත්න මහතා ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ චන්ද්‍රා පෙරේරා මහත්මිය සහ ඉසුරු උදාන වික්‍රමසූරිය මහතා - පානදුර - රු. 1,000/- ■ කසුන් තාරක වික්‍රමසූරිය මහතා සහ සිතුම්ණි ප්‍රබෝධා මහත්මිය - පානදුර - රු. 1,000/- ■ කේ. ජී. ඒ. ධනුෂිකා මහත්මිය - පානදුර - රු. 1,000/- ■ ඒ.ඒ.එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ ජී.ඒ.ජී. සුමිත්‍රා පතිරාජ මහත්මිය - වහරක - රු. 1,000/- ■ ඒ. ඒ. කෞෂානි සකුනිකා ප්‍රේමතිලක මහත්මිය - රදාවාන - රු. 1000/- ■ රනිල් වර්ණකුලසූරිය මහතා - ඇටියාවල - රු. 1,000/- තරංගා ගොඩකන්ද මෙනවිය - හෝමාගම - රු.1,000/- ■ නලින්ද ප්‍රේමරත්න මහතා - මහරගම - රු.1,000/- ■ කිත්සිරි මහතා - රු.1,000/- ■ තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, පී.එම් ගමගේ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, ඩී.ජී.ටී

මැණිකේ මිය - යටිවල්දෙනිය, ශ්‍රී රංජිත්සිංහ මයා - කැලණිය, රෝහිණී වෙදආරච්චි මහත්මිය - අම්බලන්ගොඩ, දමයන්ති ලියනගේ මහත්මිය - කිඹුලාපිටිය, අසංකා විජේවර්ධන මහත්මිය ඇතුලු පවුලේ සැම - කොළඹ 03, චන්ද්‍රානි මහත්මිය - ඇහැලියගොඩ, ස්වර්ණා ජයසේකර මහත්මිය - බේරුවල, පී.ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ, මිලිනාවතී මහත්මිය - වේයන්ගොඩ, ගයාන් අගලවත්ත මහතා - කොල්ලුපිටිය හෙමාස් ආයතනය - එකතුව - රු. 8,400/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 187,260/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 262,800/- ■ අනෙකුත් වියදම් - රු. 15,150/- ■ සම්පූර්ණ වියදම - රු. 277,950/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර මහතා - මගුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (29) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය -0772717514 (30) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# සසර කතර...

තවරලා ගත සුවඳ විලවුන් පළඳලා අභරණ තොසින්
සැරසිලා නෙක විසුළු ඇඳුමෙන් පෙන්වලා රුව නෙක රැසින්
නොමැරිලා තව ඉන්න පැතුවත් පෙරළිලා ලෝ දම නිසින්
වැනසිලා යයි මෙකය දිනයක වැළලිලා පොළවේ පසින්

සතර සාගර ජලය පරදයි නෙතින් වැගිරුණු කඳුළු සසරේ
ඉතිර යයි මහ සයුරු සසරේ ගැළුව ලේ එක් වුවොත් සිරුරේ
වැතිර පස් කම් සැපය විඳිනා සතුනි මේ ලද මොහොත අතරේ
එතෙර දක්නට සිතට ගනු මැන බයංකර වූ සසර කතරේ

ඇසට රූපය කනට සද්දය දිවට රසයයි ගැටෙන්නේ
මනට දහමයි කයට පහසයි නහසයට ගඳ දැනෙන්නේ
සතට මේ හය ලැබෙන විටදියි සාර සුව බව සිතෙන්නේ
දැනට සුව ලෙස දැනෙනමුත් මතු සසර දුකටයි වැටෙන්නේ

විඳින්නට සැප ගොඩ ගසාගෙන රැගෙන බෝ වස්තුව තොසේ
හිඳින්නට මහ මාළිගාවන් තනාගෙන මහ රජ ලෙසේ
බිඳින්නට ලෝ දහම අණසක පැතිරුවත් තම දස දෙසේ
වඳින්නට වෙයි කවර හෝ දින පතා සරණක් මුනි බසේ

පබැඳුම - වළස්මුල්ලේ සුචරිත ආරියරත්න



# ඇසි පිය ගහන මොහොතකි මේ...

බිහිසුනු දිගු සසර කතරෙහි එක තැනක
ඇහි පිය ගහන මොහොතකි කප් කෙළ සැණක
එහි සිට ලොවම ජය ගත් සේ ඇති කුණක
මහිමය නොදත් උන් බෙරිහන් දෙති කොනක

ළඟ මිස දුර නොබල මොහොතක සුව බැඳෙන
මග තොට යනෙන සසරෙහි තැන තැන මීදෙන
රඟ දෙන නරන් සැණකට රජ ලෙස ඇඳෙන
වග තුග නොදැන යයි සසරෙහි දුක හැදෙන

ආ දුර සමග සසඳා කල බලන විට
බෝ දුර වෙමැයි ගෙවනා තැන සැණකි කොට
කෑදර සිතිවිලිද එයි සැප විඳින හෙට
සෝ බර වෙමැයි විදුලිය මෙනි ගෙවෙන තුට

පණුවෙකු හට අසූචිය මහ මෙර ලෙසට
දැනුනම එපරිදිය ලොව මනු සත හිසට
අනුවණකම සැණක බැඳී මහ මෙර උසට
ගනු මිස අතැර නැත අසුවන දෙය ඇසට

අතීතය අනාගත සසරෙහි දෙකල
අනාතය යනෙන හැම වර සත සකල
මනාපය තිබෙන මුත් දැඩි ලෙස මෙකල
විනාසය මොහොතකට ලොල් විට කිකල

අනතව සසර උඩ යට හෙළු ඇසි පියද
නොමැතිව එලය ගෙවුනා තව විය ණයද
බඹ ලොව වුවද ගෙවුනා මිස මොන ජයද
තව තව හැදුව දුක නම් ඇත හැර ගියද

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන




1059 Rs.25.00
Hela Bodhu Piyuma 59

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී